سنهالي

للمسلمين الجدد

سلسلة الهداية (4)

# ඉස්ලාමීය අධ්‍යාපනය

# الإسلام

## දෙවන පොත

## الجزء الثاني

මහාචාර්ය ඉබ්‍රාහිම් අමීනී

# පටුන

# පෙරවදන

ළමෝ මනු පරපුරෙහි මහගුනම වත්කම වෙති. ඔවුන්ගේ අධ්‍යාපනය සහ ඔවුන් පුහුණු කිරීම සඳහාත් , ඔවුන් කෙරෙහි වන ගෞරවය, ආදරය සහ දයාව කෙරෙහිත් ඉස්ලාමය මගින් විශේෂ අවධානයක් යොමු කරනු ලැබ ඇත. ළමුන්ගේ අයිතිවාසිකම් සංරක්ෂණය පිළිබඳ ඉස්ලාමයේ සවිස්තර ලෙස සඳහන් කරනු ලැබ ඇති අතර අල්ලාහ් දෙවියන් නැමදීමෙහිත්, මිනිස් වගට සේවය කිරීමෙහිත් අරමුණ ඉලක්ක කරගෙන ඔවුන්ට මනුෂ්‍යයන් වශයෙන් පිරිපුන් වීමෙහි ලා අවශ්‍ය වන මග පෙන්වීම ඉස්ලාමය මගින් අවධාරණය කෙරෙයි.

ශ්‍රී ලංකාවේ මුස්ලිම් දරුවන්ගෙන් වැඩි සංඛ්‍යාවක් සිංහල මාධ්‍යයෙන් අධ්‍යාපනය ලබන්නෝය. මෙනයින් මෙබඳු දරුවන්ගේ ප්‍රයෝජනය සඳහා සුදුසු ඉස්ලාමීය පොත් සිංහලෙන් සකස් කිරීම වැදගත් අවශ්‍යතාවයක් වන අතර එයින් මෙබඳු පොත් ගැන උනන්දුවක් දක්වන සෙසු අය වෙනුවෙන්ද සේවයක් ඉටුවෙයි. ඉස්ලාමීය අධ්‍යාපනය ලබාදීමෙහි ලා සුදුසු පොත් සකස් කිරීමේ ප්‍රයත්නයන් කලින් දරන ලද නමුත් එය එතරම් සාර්ථක නොවුණි.

සුප්‍රකට දේව ධර්මවාදියෙකු සහ ඉරානයේ කුම් හි අල් හව්සා අල් ඉල්මියාහ් දේවධර්ම මධ්‍යස්ථානයේ වියත් මහාචාර්යවරයෙකු වන හොජතුල් ඉස්ලාම් ඉබ්‍රාහිම් අමීනි ( මොහු ඉස්ලාමය පිළිබඳව පළවුණ වැදගත් පොත් රැසකම කතුවරයා වෙයි) විසින් දරුවන් වෙනුවෙන් විශේෂයෙන්ම ලියන ලද පොත් පෙළක් ඉස්ලාමීය සේවා සංවිධානය මගින් මෙසේ සිංහලෙන් ප්‍රකාශයට පත් කෙරෙනුයේ දැඩි තෘප්තිමත් හැඟීමකින් යුතුවය.

මෙම පොත් පෙළ සුගම බසින් ඉස්ලාමය පිළිබඳව දරුවන්ට ඉගැන්වෙන වෙනස් වෙනස් ආකාර පාඩම් වශයෙන් ලියවුණකි. සෑම පාඩමකම අවසානයේ ඒ ඒ පාඩම පිළිබඳ අධ්‍යයනය සහ පුහුණුව දරුවන්ට පහසු කරවන්නට උපකාර වන පරිදි ප්‍රශ්ණ සහ අභ්‍යාස සම්පාදනය කොට ඇත. මේ පොත් දරුවන්ට ප්‍රිය ජනක වන පරිද්දෙන් චිත්‍ර ද අඩංගු කොට තිබේ. පොත් සතරකින් යුත් මේ පොත් පෙළ මඟින් දරුවන් සඳහා අවශ්‍ය ඉස්ලාමීය අධ්‍යාපනය ඔවුන් ගේ මනස් කෙත් වල වපුරනු වස් ප්‍රයත්නයක් දරනු ලැබ ඇත්තේය.

මෙම පොත් පෙළ අදාළ කවුරුනුත් විශේෂයෙන්ම දරුවන්, දෙමාපියන් සහ ගුරුවරුන් විසින් පිළිගනු ලැබෙනු ඇතිය යනු ඉස්ලාමීය සේවා සංවිධානයේ බලාපොරොත්තුවයි. එමෙන්ම ඔවුන්ගේ එලදයි යෝජනාවන් මෙම පොත් පෙළේ මතු සංස්කරණයන් විඩිමත් කරගැනීමෙහිලාත්, සංශෝධනය කර ගැනීමෙහිලාත් ප්‍රයෝජනවත් වනු ඇතැයි අපි හඟිමු.

ඉස්ලාමීය සේවා සංවිධානය

## පළමුවන පාඩම

# පියකරු දරුවා

සහ්රාට අළුතින් පුංචි මල්ලි කෙනෙක් ලැබුණා. ඔහුගේ නම මජීද්.

සහ්රා පුංචි මල්ලි පවුලට එක්වීම ගැන සතුටු වුණා. ඒ වගේම ඈ මල්ලිට බොහෝ ආදරය කළා.

දිනක් සහ්රා මජීද් ගේ තොට්ල්ල අසළට වී ඔහු දෙස බලා සිටියා.

''අම්මේ'' සහ්රා අම්මාට කතා කළා.

''මජීද් මා සමඟ සෙල්ලම් කරන්නට හැකි තරම් ලොකු වන්නේ කවදද? මම මල්ලිට හුඟක් ආදරෙයි.''

''ඉවසන්න රත්තරන්!'' අම්මා කීවා. ''අල්ලාහ් ගේ පිහිටෙන් මල්ලි ලොකු මහත් වෙයි. එනකොට ඔබට ඔහු සමඟ සෙල්ලම් කරන්න පුළුවන් නොවැ.''

හදිසියේම ඇහැරුණ මජීද් ළපටි හඬකින් අඬන්නට පටන් ගත්තා.

''අම්මේ, ඇයි මජීද් හඬන්නේ?'' සහ්රා දුකෙන් ඇසුවා.

''ඔහුට බඩගිනි දැනිලා වාගේයි.'' අම්මා පිළිතුරු දුන්නා.

සහ්රා දුව ගොස් මජීද්ට දෙන්නට විස්කෝතුවක් ගෙනාවා. ඈ එය ඔහුගේ කටේ රුවන්නට උත්සාහ කළා.

''එපා සහ්රා , මජීද්ට විස්කෝතු හපන්න බැහැ. බලන්න ඔහුට දත් නැහැ. කරුණාකරලා ඔබ ඔහුගේ කටට කිසිවක් රුවන්න එපා. එය ඔහුගේ උගුරේ හිරවී ඔහුට හුස්ම ගන්නට අපහසු වේවි.''

පුදුමයට පත් සහ්රා අම්මාගෙන් මෙසේ ඇසුවා.

''එහෙනම් ඔහු කෑමට ගන්නේ මොනවාද?''

මජිද් ගේ ආහාරය කිරි බව ඇයට අම්මා කියා දුන්නා.

''කිරි බීමෙන් පමණක් ඔහුට සම්පූර්ණ පෝෂණය ලැබෙනවා'' ඈ කීවා.

ඊළඟට අම්මා නැගිට දරුවා ඔසොවා ගත්තා. ඔහු තම ඇකයෙහි හොවාගෙන පපුව දෙසට හරවා ගෙන ඔහුට කිරි පොවන්නට වුණා.



අම්මාට තුරුලුවූ මජිද් සිය කුඩා දෙතොලින් කිරි උරන්නට වුණා.

තව තවත් පුදුමයට පත්වූ සහ්රා මජිද් හා මව දෙස මොහොතක් බලා සිටියා. ''අම්මේ, මුල පටන්ම ඔබ ළඟ කිරි තිබුනද?'' ඈ ඇසුවා.

''නෑ!'' අම්මා කීවා. ''නමුත්, මජිද් උපන් දවසේ පටන්ම ඒවායෙහි

කිරි පිරෙන්නට ගත්තා.''

''ඔබ මජීද් වෙනුවෙන් ඔය කිරි සාදගන්නේ කොහොමද?'' සහ්රා නැවතත් ඇසුවා.

''මා කරන්නේ ආහාර ගැනීමයි. මා ගන්නා ආහාරයෙන් මජීද්ට අවශ්‍ය කිරි හැදෙනවා.'' අම්මා පිළිතුරු දුන්නා.

''ඒත්, ඔබ කලිනුත් ආහාර ගත්තා නොවේද? ඉතින් ඒ කාලයේ කිරි හැදුන් නැත්තේ ඇයි?''

''ඔව් මම කලිනුත් ආහාර ගත්තා නමුත් කිරි හැදුනේ නැහැ. ඒත්, මජීද් ඉපදුනාම එහෙම වුණා. එසේ නොවුණා නම් මජීද් හාමත් වේවි.''

''ඉතින් මජීද් ගැන ඔය තරම් කල්පනා කළේ කවුද?''

සහ්රා විමතියෙන් මෙන් ඇසුවා.

''අල්ලාහ් තමයි මජීද්ව මැව්වේ.'' අම්මා පිළිතුරු දුන්නා.

ඒ වාගේම ඔහු මජීද්ගේ ආහාරය ගැනත් කල්පනා කළා.''

''දරුවෙකු ඉපදුනාම ඔහුට ආහාර අවශ්‍ය වෙන බව අල්ලාහ් දන්නවා. මජීද්ට දත් නැති බවත්, ඔහුට අප මෙන් ආහාර ගැනීමට නොහැකි බවත් ඔහු දන්නවා. ඒ නිසා ඔහු මව්කිරි මගින් අසරණ බිළිඳු දරුවාට යහපත්ම ඒවාගේම වඩාත්ම සෞඛ්‍යදයක ආහාරය ලබා දෙනවා.

''සහ්රා මාගේ රත්තරන්, කිරි කියන්නේ සම්පූර්ණ ඒ වාගේම පිරිපුන් ආහාරයක්. කුඩා දරුවෙකුට අවශ්‍ය සියළුම දේ එහි අඩංගු වෙනවා. ඒ වාගේම දරුවාගේ ජීර්ණ පද්ධතියටත් එය ගැළපෙනවා.''

''ඇත්තෙන්ම අම්මේ.'' සහ්රා කියන්නට වුණා.

''අල්ලාහ් හුගාක් කරුණාවන්තයි. ඒ වාගේම ඥනවන්තයි. කිරි නොතිබුණා නම් කුඩා දරුවන් ආහාරයට ගන්නේ මොනවාද?''
''ඔව් මගේ දුවේ.'' අම්මා කීවා.

''මේ දරුවා මවන ලද්දේත්, ඔහුට ආහාර සපයන ලද්දේත් අල්ලාහ්

විසිනුයි. දැණුමැති අල්ලාහ් ඔහුට කිරිත්, ජීර්ණ පද්ධතියකුත් ලබාදී තිබෙනවා.''

''දරුවාගේ දුර්වලකම ගැන දැන සිටි ඔහු දරුවාගේ මවගේ හදවතෙහි දරුවා වෙනුවෙන් ආදරයක් ඇති කරවා එමගින් ඇ ලවා ඔහු රැක බලා ගන්නට කටයුතු යොදනවා.''

''ඒ වාගේම අල්ලාහ් මේ දුර්වල කතා කරන්නට බැරි, සිඟිති දරුවාට බඩගිනි දැනෙන විට හඬන්නටත් උගන්වා තිබෙනවා. එවිට ඔහු ළඟට එන අය ඔහුට උපකාර කරනවා.''

**සිතා බලා පිළිතුරු සපයන්න.**

1. සහ්රා මජීද් දෙස බලා සිටිද්දී ඇගේ මවට කීවේ මොනවාද?
2. සහ්රා තමන්ගේ පුංචි මල්ලිට ආදරේ කලාද? ඒ බව ඔබ දන්නේ කොහොමද?
3. දරුවාට කිරි සාදනු ලබන්නේ මව විසින්ම පමණක්ද? එසේ නොවන්නේ ඇයි?
4. මජීද් ගේ අනාගත ජීවිතය ගැන අල්ලාහ් දැන සිටි බව ඔබ දන්නේ කෙසේද?
5. අල්ලාහ් දක්ෂ බවත්, කරුණාවන්ත බවත් ඔබ දැන ගත්තේ කෙසේද?
6. කිරි නොවුණා නම් කුඩා දරුවන් ආදරය නොකළොත් කුමක් සිදුවන්නට තිබුණිද?
7. අම්මාවරුන් තම දරුවන්ට ආදරය නොකළොත් කුමක් සිදුවන්නට තිබුණිද?
8. මවකගේ හදවතෙහි තම දරුවා කෙරෙහි ආදරයක් ඇති කරවන්නේ කව්ද?

9. කුඩා දරුවා බඩගිනි දැනෙන විට හැඬුවේ නැති නම් කුමක් සිදුවනු ඇතිද?

10. කිරි උරන්නට දරුවා දැන නොසිටියේ නම් මව්වරු ඔහුට කිරි දෙන්නේ කෙසේද?

11. හඬන්නටත්, කිරි උරා බොන්නටත් දරුවන්ට ඉගැන්වූයේ කවිද?

මේ ප්‍රශ්න ගැන අළුත උපන් දරුවෙකු සිටින අම්මා කෙනෙකු සමග සාකච්ඡා කරන්න.



## දෙවැනි පාඩම

# නැන්දා සමඟ

මම මගේ දෙමාපියන් සමඟ කුඩා ගම්මානයකට ගොස් සිටියෙමි. මගේ නැන්දා එහි වාසය කළ අතර අපි ඇය සමඟ එහි නැවතුණෙමු. මගේ නැන්දා ඉතා බුද්ධිමත්ය. ඈ මහන්සි වී වැඩ කරන අතර තමන් බලන්නට එන අමුත්තන්ටද හොඳින් සළකයි. ඈ තමන්ට අවශ්‍ය කිරි ලබා ගැනීම සඳහා එළදෙනුන් දෙදෙනෙකු ගොවිපළෙහි තබාගන්නීය.

ඇගේ පුතා වන අබ්බාස් එළදෙනුන් සඳහා පිදුරු හා තණකොළ



සොයා ගෙන එන අතර උන්ගෙන් කිරි දෙවා ගන්නා ඇය එයින් කේජු, යෝගට් සහ වෙඩරු තනයි. දවල් කෑම සඳහා මගේ නැන්දා කිරෙන් බත් පිස තිබුණි. එය ඉතා ප්‍රණීත ආහාරයක්ය. ඇය අපට කේජු සහ යෝගට් වලින් ද සංග්‍රහ කළාය.

ඉර බසින්න ආසන්න වන විට නැන්ද කිරි දෙවන්නට යන බව කීවාය. පිරිසිදු බාල්දියක් රැගෙන ඇ ගව මඩුවට ගියාය. අබ්බාස් සහ මම ද ඇගේ උදව්වට ගියෙමු. නැන්ද කිරි දෙවන තුරු අපි වසු පැටවා රඳවාගෙන සිටියෙමු.

වසු පැටවාට බොන්නට ඇති තරම් කිරි ප්‍රමාණයක් ඉතිරි වන තුරු නැන්ද දෙනුන් දෙවා ගත්තාය. ''දැන් වසු පැටවාට යන්න දෙන්න'' යි ඊළඟට ඇ අපට කීවාය.

''උගට ඇවිත් කිරි බොන්නට ඉඩ හරින්න.'' වසු පැටවා අපෙන් මිදී උගේ මව වෙත ගොස් කිරි උරන්නට විය. වසු පැටවාගේ ජවයත් ශක්තියත්, ගැන මම පුදුම විමි.

''නැන්දේ'' මම කතා කළෙමි.

''වසු පැටවා ඔය තරම් ශක්තිමත් හා කඩිසර වන්නට උඟ කැමට ගන්නේ මොනවාද?''

''උඟ බොන්නේ කිරි පමණයි'' නැන්ද කීවාය.

කිරි සම්පූර්ණ හා ආරක්ෂාදායී ආහාරයක්. ශරීරය වැඩීමටත්, ශරීර



සෞඛ්‍යයටත් අවශ්‍ය හැම දෙයක්ම කිරි වල තිබෙනවා. විටමින්, ඛණිජ ද්‍රව්‍යය මේද, ග්ලූකෝස් සහ අනෙකුත් පෝෂ්‍ය අවශ්‍යතා සියල්ලම සපයන්නට කිරි පමණක් ප්‍රමාණවත්''

''නැන්දේ, වසු පැටියාගේ ශරීරයට අවශ්‍ය දේ ගැන එළදෙන දැන සිටියාද? පැටියා සඳහා තමන්ගේ කිරෙහි සැදිය යුතු දේ ගැන ඈ දැන සිටියාද? එතරම පෝෂ්‍යදයී සම්පූර්ණ ආහාරයක් තනා ගන්නේ කෙසේ දැයි ඈ දැන සිටියාද?

''නැහැ'' නැන්ද පිළිතුරු දුන්නාය.''වසු පැටවාගේ ශාරීරික අවශ්‍යතාවයන් ගැනවත්, කිරෙහි අඩංගු දේ ගැනවත් කිසිවක් එළදෙන දන්නේ නැහැ. එළදෙන ඒ කිසිවක් දැනගෙන හෝ ඇගේ වුවමනාවෙන්ම කිරි සාදගන්නේ නැහැ.'' ඈ තව දුරටත් මට කරුණු විස්තර කර දෙන්නට විය.

''වසු පැටවාගේ අවශ්‍යතාවයන් දැන සිටියේ අල්ලාහ්ය. එළදෙන ගේ ශරීරය තුළ සම්පූර්ණ කිරි නිෂ්පාදනාගාරයක් ඇති කළේ අල්ලාහ්ය. එමඟින් වසු පැටවාට වැඩෙන්නට අවශ්‍ය තරම කිරි සාද ඉතිරිය අපට බොන්නට ඉඩ හරින්නේද අල්ලාහ්ය.''



''අපි ජීවත් වන්නේ පුදුමාකාර ලෙස සාමූහිකව ක්‍රියාත්මක වන ලෝකයකයි. ශාක ජලය, පොළොව සහ හිරු එළියෙන් ප්‍රයෝජන ලබනවා. එළදෙන තණකොළ ආහාරයට ගන්නා අතර එය උන්ගේ ශරීරය තුළ කිරි බවට හැරවෙනවා. වසු පැටියා ඒ කිරි බොනවා. අපි ද වසු පැටියාට අවශ්‍ය නැති දෙයින් ප්‍රයෝජන ලබනවා.''

''සර්ව බලධාරී හා සියල්ල දත් අල්ලාහ් හැරෙන්නට අපේ අවශ්‍යතාවයනුත්, වසු පැටියාගේ අවශ්‍යතාවයනුත් සියල්ල දැන ගෙන එබඳු පිළිවෙළකින් හා සාමූහික ක්‍රියා කිරීමකින් අපට අවශ්‍ය කිරි ලබා දෙන්නේ වෙන කවුරුද?''

''ජවාද් රත්තරන්, මා ළඟට එන්න. අර එළදෙනගේ බුරුල්ල තුඩ සිහින් සිදුරු සහිතයි. වසු පැටියා කිරි බොනවිට කිරි ඇදී එන්නේ ඒ සිදුරු තුළිනි. ඒ කිරි සිදුරු තුළින් අනෙක් වේලාවට වැස්සෙන්නේ නැහැ. ඒ වාගේම වසු පැටියාගේ උගුරට වැඩියෙන් කිරි ඇදී එන්නේ නෑ. අපගේ කරුණාවන්ත වූ අල්ලාහ් අපේ ආහාරය ගැනත් වසු පැටියගේ ආහාරය ගැනත් කල්පනා කර තිබෙනවා. ඒ නිසායි එළදෙනගේ සිරුර තුළ වසු පැටියාට අවශ්‍ය පමණට වඩා කිරි ඇති කර තිබෙන්නේ?.

දැණුමැති වූත් බලගතුවූත් අල්ලාහ් මේ ප්‍රසන්න හා පෝෂ්‍යදයී ආහාරය මවා තිබෙන්නේ අපට සෞඛ්‍ය සම්පන්නව හා ශක්තිමත්ව වැඩෙන්නටත්, ඔහුට වන්දනය කරන්නට හා තුති පුදන්නටත් මහන්සි වී වැඩ කරන්නට හා ඔහු විසින් අපට සපයනු ලැබ ඇති ඉඩකඩම් වගා කරන්නටත්, අපගේ උපකාරය අවශ්‍ය අයට උදව් කරන්නටත්ය. අල්ලාහ් ඔහුගේ ආශීර්වාදයන් වෙනුවෙන් අපෙන් බලාපොරොත්තු වන්නේ එයයි.

**ප්‍රශ්න**

1. ජවාද් පුදුමයට පත් වූයේ කුමක් ගැනද?
2. වසු පැටවාගේ ශක්තිය ඇති වීමට හේතුව කුමන ආහාරයද ?
3. ''කිරි යනු පරිපූර්ණ ආහාරයකි'' යන්නෙහි අර්ථය කුමක්ද?
4. කිරිවල අඩංගු දේ ගැන එළදෙන දන්නවාද?

5. එළදෙනගේ සිරුර තුළ සම්පූර්ණ කිරි නිෂ්පාදනාගාරයක් ඇති කළේ කවුද?

6. ජවාද් ගේ නැන්ද එළදෙනගේ පියයුරේ බුරුල්ල පෙන්වා කුමක් කීවාද?

7. වසු පැටියාට අවශ්‍ය පමණට වඩා කිරි එළදෙන ළඟ පියයුරේ තිබෙනවාද?

8. වැඩිපුර ඇති කිරි වලින් ප්‍රයෝජන ලබන්නේ කවුද?

9. මවන ලද ලෝකයෙහි පිළිවෙළ හා සාමූහිකත්වය තුළින් අප තේරුම් ගන්නේ කුමක්ද?

10. අල්ලාහ් ගේ ආශීර්වාද හමුවේ අප සතු යුතුකම කුමක්ද?

**අභ්‍යාස**

1. ඉහත ප්‍රශ්න වලට පිළිතුරු දෙන්න යයි මිතුරාට කියන්න.

2. ඔබේ පවුලේ සාමාජිකයන්ට ඇසෙන්නට මේ පාඩම කියවන්න.



## තුන්වැනි පාඩම

# කුතුහලයෙන් පිරි පිරිමි දරුවා

හසන් පාසැලේ දෙවැනි පංතියේ සිසුවෙකි. ඔහු ඉතා දක්ෂ හා කුතුහලයෙන් පිරි දරුවෙක්ය.

ඔහු තමන්ගේ පාඩම් හොඳින් ඉගෙන ගන්නට කැමති අයෙක් ද වෙයි. සෑම දෙයක් ගැනම සිත මෙහෙයවන ඔහු තමන්ට කිසිවක් තේරුම් ගන්නට අපහසු නම් ඒ ගැන තව අයෙකුගෙන් විමසා දැන ගනියි.

දිනක් පංතියේදී ගුරුවරයා මෙසේ කීවේය. ''අපේ ශරීරයට විවිධ



ආහාර අවශ්‍ය වෙනවා. ආහාර ගැනීම අපේ කුසගින්න නැති කරනවා වාගේම අපේ ශරීරයට ද ප්‍රයෝජනවත් වෙනවා. අප ගන්නා සෑම ආහාර වර්ගයකම විශේෂ ප්‍රයෝජනයක් තිබෙනවා.

''අපට දුවන්නටත් ක්‍රීඩා කරන්නටත් අවශ්‍ය වූ විටෙක අපට ශක්තිය ද අවශ්‍ය වෙනවා. ශක්තිය අපේ සිරුර උණුසුම්ව තබාගෙන ක්‍රීඩා කරන්නටත්, අනෙකුත් ක්‍රියාකාරකම් වල යෙදෙන්නටත් අපට හැකියාව ලබා දෙනවා.

'' අප ගන්නා අල, බත්, සීනි, රටඉඳි, මීදි, රටකජු වැනි ආහාර බොහෝමයක් අපට ශක්තිය ලබා දෙනවා. අප සියල්ලන්ටම මේ ආහාර අවශ්‍යයි. නමුත් වැඩියෙන් වැඩෙහි යෙදෙන අයට වැඩිපුර ආහාර අවශ්‍ය වෙනවා.''

''මස්, බිත්තර, කිරි, කේජු ආදී සමහරක් ආහාර අපේ ශරීර වර්ධනය සඳහා අවශ්‍යයි. ඒ වාගේම අපේ ශරීරයට විටමින් හා ඛණිජ ලවණත් අවශ්‍ය වෙනවා. අළුත් පළතුරු හා කොළපාට එළවළු වල විටමින් අඩංගු වෙන අතර මස් , කිරි, පීකුදු, බිත්තර තිව්ති සහ අනෙක් කොළපාට එළවළු වල ඛණිජ ලවණ අඩංගු වෙනවා.''

'අපගේ ශරීරයේ වර්ධනයට හා එහි සෞඛ්‍යයට නොයෙක් දේ වුවමනාය. නමුත් ඒ සෑම දෙයක්ම අප ගන්නා නොයෙක් ආහාර වල අඩංගුයි.

''වැඩීම සඳහාත් සෞඛ්‍ය සම්පන්නව සිටීම සඳහාත් අප මේ නොයෙකුත් වර්ගවල ආහාර ගත යුතු වෙනවා'' යයි ගුරුතුමා අවසාන වශයෙන් කීවේය.

මෙහිදී නැගිට ගුරුතුමාගෙන් අවසර ඉල්ලා ගත් හසන් මෙසේ කියන්නට වුණි.

''මා කලින් සිතුවේ අප ආහාර ගන්නේ බඩගින්න නිවා ගැනීම සඳහා පමණක්ය කියලයි. නමුත් අපට වැඩෙන්නටත්, සෞඛ්‍ය සම්පන්නව හා ශක්තිමත්ව සිටින්නටත් අපේ ශරීරයට විවිධ ආහාර ලබා දිය යුතු බව දැන් මට අවබෝධ වුණා. සෞඛ්‍ය සම්පන්නව සිටීම අප විවිධ ආහාර අනුභව කළ යුතු බව දැන් මම දන්නවා.''

''ඔව්'' ගුරුතුමා කීවේය. ''නමුත් අපට අවශ්‍ය හැම දෙයක්ම අප අවට ලෝකයේ පැවතීම අපට සතුටක්. නොයෙක් පළතුරු හා විවිධ වර්ගයේ කොළ එළවළු, බත්, තිරිඟු, ඇටවර්ග, බෝංචි, තිවිති වැනි ආහාරත් අප අවට තිබෙනවා. කෙටියෙන් කීවොත් හැම දෙයක්ම අපට ලබා ගත හැකියි.''

''ගස් අපගේ ආහාරය සඳහා ගෙඩි සපයනවා. සත්තු අපට කිරි හා මස් ලබා දෙනවා.''

''ඉතින් ළමයිනි, අප ගැන මෙසේ කල්පනා කළේත් අපේ අවශ්‍යතාවයන් දැන සිටියේත් කවුදැයි මට කියන්න. අපට අවශ්‍ය සියලු දේ කලින්ම මවා තැබුවේ කවුදැයි කියන්න.''

''ඔව් ළමයිනි, තමන් තුළ අප කෙරෙහි වූ කරුණාවෙන් අපට අවශ්‍ය සියලු දෙය මවා තැබුවේත් අවශ්‍ය දේ වගා කර ගැනීම සඳහා ශක්තිය හා නුවණ සපයන ලද්දේත් සර්ව බලධාරී දෙවියන් වහන්සේ විසින්. ඔහුගේ ආශිර්වාදයන්ගෙන් එල ලබන අපි ඔහුට ස්තුති වන්න විය යුතුයි. ඒ ප්‍රයෝජන අනෙක් අයට උපකාර කිරීම සඳහාද යොද ගත යුතුයි.''

''වැඩක නොයෙදෙන හෝ අසරණ අයට උපකාර නොවන හැකියාවක් ඇති කිසිම කෙනෙකුට අනෙක් අයගේ ප්‍රයෝජනයන් පාවිච්චි කිරීමට අවසර නැත. ඔබත් ඔබේ දෙමාපියන්ට උපකාර කළයුතුය; සමාජයට වැඩ කළ යුතුය. මන්ද ඔබ දන්නා පරිදි අල්ලාහ් ආත්මාර්ථකාමී, අලස මිනිසුන්ට ආදරය කරන්නේ නැහැ. ලොව දුප්පතුන්ට හා කුසගින්නෙන් පෙළෙන්නන්ට උපකාර වන්න. ඔවුන්ගේ අයිතිවාසිකම් රැක දෙන්නට උත්සාහ ගන්න.''

## කල්පනා කර බලා පිළිතුරු සපයන්න.

1. ඔබට යම් දෙයක් නොතේරෙන විට ඔබ කුමක් කරන්නෙහිද?
2. ඔබ ටික වේලාවක් ආහාර නොගෙන සිටියොත් ඔබ කුමන තත්ත්වයකට පත්වනු ඇතිද? ඒ ඇයි?

3. ඔබේ ශරීරයේ සියළුම අවශ්‍යතා ගනින්නට හැකිද?

4. අපේ ශරීරයේ අවශ්‍යතා ඉටුවන්නේ කෙසේද?

5. සත්තු හා ශාඛ අපට අවශ්‍ය දෑ සපයා දෙන්නේ කෙසේද?

6. අප ගැන කල්පනා කර අපට අවශ්‍ය සියළුම දේ මවා තබන ලද්දේ කවුරුන් විසින්ද?

7. ලෝකය තුළ වෙසෙන අපගේ යුතුකම කුමක්ද?

8. ඉඩම් වගා කළ යුත්තේ කවුද?

9. අනුන්ගේ ප්‍රයත්නයන්ගේ ඵල වලින් ප්‍රයෝජන ලැබීමට අවසර නැත්තේ කාටද?

10. ඔබ ඔබේ දෙමාපියන්ට උපකාර වන්නේද?

11. ලොව වෙසෙන දුප්පතුන් හා කුසගින්නෙන් පෙළෙන අය වෙනුවෙන් සොයා බලා අප ඔවුන්ට උපකාර විය යුත්තේ කෙසේද?



## හතර වැනි පඩම

# අපේ ශාරීරික අවශ්‍යතාවයන්

අපේ ශරීරයට වෙනස් වර්ගවල ආහාර අවශ්‍ය වන්නේය. අපට විවිධ ආහාර නුවුණි නම් අප කුමක් කරනු ඇතිද?

අපට ඇවිදින්නටත් අපේ කටයුතු කරගන්නටත් අපට හැකිවේද?

අපේ ශරීරවල සෞඛ්‍යය සඳහා අපි සෑහෙන තරම් ජලය ප්‍රමාණයක් පානය කළ යුතුවෙමු. වතුර නොවුණි නම් අප කුමක් කරනු ඇතිද?

ආහාර ගන්නටත්, ජලය පානය කරන්නටත් මුඛයක් නොවුණි නම් අප කුමක් කරනු ඇතිද?

අප ගන්නා ආහාර විකන්නට දත් නැතිනම් අප කුමක් කරනු ඇතිද?

අපගේ ජීවිතය සඳහා අවශ්‍ය සියල්ල ලෝකයේ පැවතීම සතුටට





කාරණාවක්ය. ලෝකයේ පවතින පළතුරු වර්ග රැසක් අපට අවශ්‍ය වනදැය. ලෝකයේ පවතින විවිධ වර්ග වල එළවළුද අපට අවශ්‍යය, අපට පිපාසය දැනෙද්දී ලෝකයේ පවතින ජලය අපි ප්‍රයෝජනයට ගනිමු.

අපේ සියළු අවශ්‍යතාවයන් දැන සිටියේත් ඒ සියල්ල සපුරාලනු සඳහා විවිධ දේ මැව්වේත් කවුදැයි ඔබ දන්නවාද? මෙ සියළු ආශීර්වාදයන් වෙනුවෙන් අප තුති පුදන්නේ කෙසේද?





ආහාර ගන්නටත්, පානය කරන්නටත් අපට මුඛයක් තිබේ. ආහාර මුඛයෙහි රුවාගන්නට අපට දැත් තිබේ. ආහාර දිරවීමේ ක්‍රියාව සඳහා ආමාශයක් ද තිබේ. සියල්ල දකින්නට දෑසත්, ආහාරයේ රස අත් දකින්නටත්, කතා කරන්නටත් දිවකුත් අපට ලැබී ඇත.

අපගේ සෞඛ්‍යයටත් වර්ධනයටත් අවශ්‍ය සෑම දෙයක්ම සපයනු ලැබ තිබේ.

අපගේ මැවිල්ලට අයිති අනෙකුත් දේත් අතර පවත්නා විශේෂ සම්බන්ධතාවය සහ රටාව තුළින් අපට තේරුම් ගත හැක්කේ, අප මවන ලද්දේ සියල්ල දත් සහ සියලු බලයෙන් යුතු මැවුම්කරුවා විසින් බවත් ඔහු පේ අවශ්‍යතාවයන් සියල්ල කලින් දැන සිටි බවත්ය.

ඒ මැවුම් කරුවා අල්ලාහ්ය. ඔහු සියල්ල දන්නේද සියළු බලයෙන් යුක්ත වන්නේද වෙයි.

ඔහු සියල්ල දැන නොසිටියේ නම් ඔහු අපට අවශ්‍ය දෑ දැන ගන්නේද නැත.

ඔහුට සියලු බලය නුවුණා නම් මේවා මවන්නට ඔහුට හැකියාවක් ලැබෙන්නේද නැත.

දැන් අප දෙවියන් වහන්සේ ( අල්ලාහ් ) සියල්ල දන්නා ( ආලිම්) බවත් සියළු බලයෙන් යුක්ත ( කදීර්) බවත් දන්නෙමු.

අල්ලාහ් තමන් මැවූ සියල්ලන් කෙරෙහි ම කරුණාවන්තය; දයාබරය. ඔහු විසින් මේ සියළු ආශිර්වාදයන් මවන ලද්දේ සැම දෙනාම සඳහාය. අප සියල්ලන්ටම සතුටින් ජිවත්වන්නටත් ඔහුගේ ආශිර්වාදයන් භුක්ති විඳින්නටත් අයිතිය ඇත.

නමුත් අපරාධකාරී කෲර පාලකයන් විසින් අප බොහෝමයකගේ ඒ ආශිර්වාදයන් උදුරා ගනු ලැබ ඇත. අප බොහෝ දෙනෙකුට ප්‍රමාණවත් තරමින් ආහාර හා පළතුරු ලබාගන්නට අවකාශය නැත. අපගෙන් සමහරුනට පානීය ජලය පවා නැත. මුස්ලිම්වරුන් අනුන් ගැන හිතන්නටත්, අනුන් ආරක්‍ෂා කරගන්නටත් සිතා ගතයුතුය.

කිසිදු විටෙක මුස්ලිම්වරයෙකු පීඩිතයන් හා දුප්පතුන් ගැන කල්පනා නොකර තමන් කැමති තරම් කෑම හෝ බීම හොඳ නැත. අපි සියල්ලෝම අතින් අත ගෙන මේ ලෝකය ජිවත් වන්නට වඩා හොඳ තැනක් කරන්නටත් උත්සාහ ගත යුතු අතර දුප්පතුන්ගේ අවශ්‍යතාවයන් ඉටුකර දෙන්නටත් ඔවුන්ට නැතිවී ගිය අයිතිවාසිකම් ලබාදීමටත් උත්සුක විය යුතු ද වෙමු.

**අභ්‍යාස**

අ. මෙම පාඩම කිසිදු වරදකින් තොර චතුර ලෙස කියවන්නට ඔබට හැකිද? ඔබේ මිතුරා සමග කියැවීමේ තරගයක් පවත්වා වඩා හොඳින් කියවන්නා සොයා ගන්න.

ආ. මේ පාඩම ගැන ප්‍රශ්න තුනක් තනාගෙන ඔබේ මිතුරාගෙන් ඒවාට උත්තර ලබාගන්න.

ඉ. වෙනත් අභ්‍යාසයක් කල්පනා කර බලා එය ක්‍රියාවට නඟන්න.



## පස්වැනි පාඩම

# කරුණාබර අල්ලාහ්

අහා කරුණාබර අල්ලාහ්! ඔබ විසින් ඔබගේ සියළුම සත්ත්වයින් මවනු ලැබ ඇත. ඔබ ඔවුන් සියල්ලන්ටම ආදරය කරන්නෙහිය.

අහා කරුණාබර අල්ලාහ්! ඔබ විසින් මනුෂ්‍යයන් සඳහා මේ සියලු ආශිර්වාදයන් මවනු ලැබ ඇත. සියල්ලන්ම තමන්ගේ ජීවය ලබාගන්නේ ඔබගෙනි.

අහා කරුණාබර අල්ලාහ්! අප මෙලොව මෙන්ම මරණින් මතුවත් සතුටෙන් ජීවත් කරවනු පිණිස ඔබ අප කෙරෙහි විශේෂයෙන් කරුණාබර වෙමින් අප නිවැරදි මඟෙහි යොමුකරන්නටත් ජීවත්වීමේ නිසි ක්‍රමය අපට කියා දෙන්නටත් නබිවරුන් අප වෙත එවූවෙහිය.

අහා කරුණාබර අල්ලාහ්! එකිනෙකාට කරුණාවන්ත වන මෙන්ද දුප්පතුන් සහ හිමිකම් අහිමිවූවන්ගේ සහනය පතා වෙහෙසෙන මෙන් ද , කිසිවෙකුට හිංසා නොකරන මෙන් ද ඔබ අපට කියාදී ඇත. පීඩිතයින්ට උපකාර වන මෙන් ද ඔවුන්ට සහයෝගය ලබා දෙන මෙන්ද, ඔබ අපට අණකර ඇත. අයුක්තියට අසාධාරණයට හා කුරිරු බවට විරුද්ධවන ලෙසද ඔබ අපට උපදෙස් දී ඇත. කෲර පාලකයින්ගේ සතුරන් වන මෙන් ද ඔවුන්ට එරෙහිව අරගල කරන මෙන් ද ඔබ අපට උපදෙස් දී ඇත.

ශුද්ධවූ අල්ලාහ්! අපේ යුතුකම් අපට සිහිපත් කර දෙනු මැනවි. ඒවා ඉටුකරන්නට අපට සහය වනු මැනවි. ඔබගේ බෙහෙවින්ම සාධාරණ සේවකයින් අතරට වන්නට අපට උපකාර වනු මැනවි.

**අභ්‍යාස**

1. මෙ පාඩම ඔබට හැකි තරම් හොඳින් කියවන්න.

2. පාඩමෙ සාරාංශයක් ලියන්න.

3. ඔබේ පවුලේ සාමාජිකයන්ට මෙ පාඩම කියා දෙන්න.



හයවැනි පාඩම

# වපුරන දේ නෙලන්නෙහිය.

සෑම ක්‍රියාවකම ප්‍රතිඵලයක් ඇත. ප්‍රතිඵලයක් නැති ක්‍රියාවක් නොමැත. මේ මිනිසාගේ නම හජ් අලීය. හජ් අලී දක්ෂ මෙන්ම වෙහෙස නොතකා වැඩ කරන මිනිසෙකි. ඔහු වෙහෙසවී වැඩ කරයි. පැළෑටි රෝපණය කරයි. ඒවා රැක බලා ගනියි. මේ පියකරු පළතුරු උයන දෙස බලන්න. ඒ හජ් අලීගේ පළතුරු උයනයි. හජ් අලී සහ ඔහුගේ



පවුලේ අය එහි පළ නෙළති. ඔවුහු ඒවායින් සමහරක් තමන්ගේ ප්‍රයෝජනයට තබාගෙන ඉතිරි සියල්ල විකුණා ගන්නෝය. මෙයින් ලබන මිළෙන් ඔවුහු ප්‍රයෝජන ලබති.

හජ් අලී ප්‍රීතිමත් ජීවිතයක් ගත කරන අතර අනුන්ට සේවය කරන්නට ද වෙහෙසෙයි.

යහපත් ක්‍රියාවක යෙදෙන කවුරුන් හෝ සාධාරණ තිළිණයක ලබන්නේය. වත්මන් ලෝකය වනාහි මරණින් පසුව ලොවෙහි ''වගාබිම'' වෙයි. මෙ ලෝකයේ යහපත් දෑ කරන කවරෙකු වුව මරණින් පසුව සාධාරණ තිළිණ ලබන්නේය.



මේ මිනිසා අලසය. කුසීතය. ඔහුගේ බිම නිසරුය. එය පුරන් වී ඇත. එහි ගස් හෝ මල් කිසිවක් නොවේ.

ග්‍රීස්ම ඍතුවේ දී ගමේ අනෙක් සියල්ලන්ම බෝග හා ඵල නෙලා ගන්නා විට ඔහු නැවෙයි. එවිට ඔහු මෙසේ කියා ගන්නේය.

''මම ද පැළයක් වවා ගතිමි නම් ....!මට ද පළතුරු උයනක් වී තිබේ.''



මේ අයුරින් කිසි වැඩක් නොකරන්නෙකු කිසිදු ලාභයක් නොලබන්නේය. කිසි වැඩක් නොකරන කවරෙකු වුව ද දුකෙන් හා අසරණව කල් ගෙවයි.

### සිතා බලා පිළිතුරු සපයන්න.

(1) හජ් අලි කුමන ආකාරයේ පුද්ගලයෙක්ද?

(2) ඔහු ගත කරන්නේ කෙබඳු ආකාරයක ජීවිතයක්ද?

(3) හජ් අලි ගේ රැකියාව කුමක්ද?

(4) තම රැකියාවෙන් ඔහු ලබන ලාභය කුමක්ද?

(5) ''මෙලොව වනාහි පරලොවෙහි වගාබිම වේ'' යන්නෙහි තේරුම කුමක්ද?

(6) අලස පුද්ගලයාට ලැබෙන ලාභය කුමක්ද?

(7) වෙහෙස මහන්සි වී වැඩ නොකරන්නා දුකෙන් හා අසරණව කල් ගෙවන්නේ ඇයි?

<u>පහත සඳහන් වාක්‍යයන් සම්පූර්ණ කරන්න.</u>

අ. කිසි වැඩක් නොකරන්නා..................නොලබන්නේය.

ආ. කිසි වැඩක් නොකරන............... වුවද............... හා ..........කල් ගෙවයි.

ඇ. අලසයාගේ බිම...................ය.

ඈ. .................... වනාහි පරලොවෙහි ..............වේ.

ඉ. හජ් අලි ..............ජීවිතයක් ගත කරන්නේය.

ඊ. ඔහු අනුන්ට...............කරන්නටද.............

**අපේ ක්‍රියාවල ප්‍රතිලාභ**

මසූද් කන්දට මුහුණ ලා සිටියි. ඔහු ''හෝ ! හෝ!'' යයි හඬ නගන්නේය.

මසූද්ගේ හඬ කන්දෙහි වැදී ආපසු මසූද් කරාම එයි. මසූද්ට එය ඇසෙන්නේ කන්දද ''හෝ හෝ'' කියන්නාක් මෙනි.

අපේ සියලු ක්‍රියාවන්ට ''දෝංකාරයක්'' ඇත. එය යම් දිනක අප කරාම එන්නේය. අප කරන ක්‍රියාවන් යහපත් ඒවා වන්නේ නම් එයින් අප ලබන ප්‍රතිඵල ද යහපත වේ. එනම් ඒවා සඳහා අප තිළිණ ලබන බවයි. නමුත් අප අයහපත් ක්‍රියාවන්හි යෙදුණේ නම් ඒවායේ ප්‍රතිලාභ අයහපත් වන අතර අප දුකට පත් කරන්නේද වෙයි.

අප කරන සියලුම යහපත් හා අයහපත් කටයුතු වලට අපි මරණින් මතු ලොවේදී සම්පූර්ණ හා පිරිපුන් ප්‍රතිලාභ ලබන්නෙමු.

**කල්පනා කර බලා පිළිතුරු දෙන්න.**

1. මසුද් කන්දට මුහුණ ලා සිට කවර හඬක් නඟයිද?

ඔහුගේ හඬ ආපසු එන කල ඔහුට ඇසෙන්නේ හඬක්ද?

2. අපි අපේ යහපත් ක්‍රියාවල ප්‍රතිලාභවලට කැමතිද? ඒ ඇයි?

3. අපේ සියලු ක්‍රියාවල සම්පූර්ණ ප්‍රතිලාභය අප අත් විඳින්නේ කොහිදිද?

**පහත සඳහන් වාක්‍යයන් සම්පූර්ණ කරන්න.**

අ. අපේ සියළු ක්‍රියාවන්ට.................. ඇත.

ආ. අප කරන ..................... යහපත් ඒවා වන්නේ නම් එහි ප්‍රතිඵල ද ...................වේ.

ඇ. .....................ක්‍රියාවන් නිසා අපි දුකට පත්වෙන්නෙමු.

ඈ. අප කරන සියළුම ..............ප්‍රතිලාභ ලැබෙන්නේ .............මතු ලොවේදීය.

ඉ. ...................ක්‍රියාවල විපාක යම් දිනයක .......................කරාම......................

## හත්වැනි පාඩම

# මරණයෙන් පසු ජීවිතය

නව හැවිරිදි සයිද තුන් වැනි ශ්‍රේණියේ ශිෂ්‍යාවකි. ඇ දක්ෂය. එමෙන්ම ඇ කුතුහලයෙන් පිරුණ දැරියකි. නිතර ප්‍රශ්න නගන ඇය ඒවාට ලැබෙන පිළිතුර මතකයේ රඳවා ගන්නිය.

දිනක් ඇ සිය මවගෙන් මෙසේ ඇසුවාය ''අම්මේ මේ සියල්ල මට තේරුම් කර දෙන්න. සෑම උදයකම අවදිවන අපි උදේ ආහාරය ගනිමු. තාත්තා රැකියාවට යන අතර මම පාසැල් යමි. ඒ අතර ගෙදර නැවති සිටින ඔබ සියළු වැඩ කටයුතු වල යෙදෙන්නිය. රාත්‍රියේ තාත්තා වැඩ නිම කොට එයි. ඊළඟට අපි ආහාර ගෙන නින්දට යමු. ඊළඟ උදය එළඹෙන තුරු අපි නිද ගනිමු.

''අපි නැවතත් මේ දෑම කරන්නෙමු. ඊළඟ දිනයේත් ඊට පසුව එළඹෙන දිනයේත් අපි එසේම කරමු.''

''අම්මේ අප මේ සියල්ල මෙසේ කරන්නේ ඇයි? අපි සියල්ලෝම ජීවත් වන්නේ ඇයි? පිරිමි ළමයින් මිනිසුන් බවට ද ගැහැණු ළමයින් ගැහැනුන් බවටද පත් වෙති. ඊළඟට අපි වියපත් වන්නෙමු. ඊට පසු අපේ මරණය එළඹෙන්නේය. අපේ ජීවිතය සහමුලින්ම නිමවෙයි.

අප මේ කටයුතු සියල්ල කරන්නේ මිය යන්නටද? ආච්චි මිය ගිය ආකාරයෙන්ම මිය යන්නටද? මෙහි ඵලයක් නැත. ජීවිතය නිස්සාරය!''

සයිද සිය මවට විස්තර කර දෙන්නට ගියේ අප මෙහි ගත කරන ජීවිතය මුළුමනින්ම නිස්සාර බවය. සෑම දිනකම අපි ඊට කලින් දිනයේ ගත කළ වැඩ පිළිවෙළ අනුගමනය කරමු. අපි අහාර ගන්නෙමු.; නිද ගන්නෙමු. වැඩ කරන්නෙමු. අපේ ජීවිතය අවසානයේ අපි මිය යන්නෙමු. ඒ තනිවමය.

අප ගත් උත්සාහයයන් පිළිබඳව අනුන්ට දැක්වීමට අප සතුව

කිසිවක් නැත. අප මිය යන බවත්, එයින් අප කිසිදු දෙයක් ලබා ගන්නට ජීවතුන් අතර නොවෙන බවත් කියන්නට ඇයට ඕනෑ වූ සෙයකි.

ඇගේ මව උත්තර දෙන්නට වූවාය.''සයිද රත්තරන්'' අපේ ජීවිත හා අප ගන්නා ප්‍රයත්නයන් නිස්සාර නොවේ . මරණය ළඟා වූ විට අප සදහටම විනාශවී යන්නේ නැත. ඒ වෙනුවට මෙලොව සිටි අප මරණින් මතු ලෝකයට යන්නෙමු. එහිදී අප කළ සියලු ක්‍රියාවන්ට පිළිතුරු දීමට අපට සිදුවෙයි.

මරණින් මතු ලොවේ අපි සදහටම ජීවත් වන්නෙමු. යහපත් දෑ කරන අය ස්වර්ගයට යන අතර ඔවුහු සියළු පහසුකම් හා ශාන්තිය ලැබ ජීවත් වෙති. එමෙන්ම අයහපත් දෑ කරන අය අපායට යන අතර එහිදී මෙලොවෙදී කළ පව් වලට ඔවුනට දඬුවම් ලැබෙන්නේය.''

''මරණින් මතුව අප ලබන ආශිර්වාදයන් හා ප්‍රමෝදය මෙලොවේදී අප ලබන ආශිර්වාදයන් හා ප්‍රමෝදයට වඩා වැඩිය. ස්වර්ගයට යන අයට සදකාලිකවම අල්ලාහ් ගේ විශේෂ ආදරය සහ අවධානය යොමුවෙන අතර ඔවුන්ගේ දිව්‍යමය ප්‍රමෝදදයකයා වන අල්ලාහ් ඔවුන්ට සෑම විටෙකම අළුත් ආශිර්වාදයන් ලබා දෙන්නේය. ස්වර්ගයට යන අය ස්වකීය සමිදුණන්ගේ ශුද්ධවූ ස්නේහයත්, අළුත් ආශීර්වාදයනුත්, අනුග්‍රහයත් ලබන්නෝය. එමෙන්ම ඔවුහු සදකාලික ශාන්තිය හා සෞභාග්‍යය හිමි කරගන්නෝය.

අල්ලාහ් කුර්ආනයේ මෙසේ පවසා ඇත.

*''අපි ඔබව තිකරුණේ නොමවන්නෙමු. මරණින් මතුව ඔබ යළි අප කරා එන්නෙහිය.*

**කල්පනා කර බලා පිළිතුරු දෙන්න.**

1. නිස්සාර දෙයක් හැටියට සයිද සිතුවේ කුමක් ගැනද? ඒ ඇයි?

2. ඇගේ මව ඇයට කුමක් කීවාද?

3. මරණයේදී අප විනාශවී යන්නෙමුද? මරණයේදී අප විනාශ වී යන්නේ නම් අප ජීවිත නිස්සාර වන්නේද?

4. අපේ සියලු ක්‍රියාවන්ට අපට පිළිතුරු දෙන්නට වන්නේ කොහිදීද?

5. යහපත් දෑ කරන අය මරණින් පසුව කෙසේ ජීවත් වන්නේද? පව්කාරයින් ලබන ජීවිතය කෙබඳුද?

6. මේ ලොව වනාහි මරණින් මතු ලොවෙහි 'වගාබිම' ය යන්නෙහි අදහස කුමක්ද?

**අභ්‍යාස**

අ. මෙම පාඩමේ අඩංගු කරුණු ගැන ඔබේ නිවසේ අයෙකු සමඟ සාකච්ඡා කරන්න.

ආ. ඉහත ප්‍රශ්න වලට පිළිතුරු ලියා ඒවා ඔබේ පංතියේ සගයින්ට කියවන්න.

ඇ. සයිද් සහ ඇගේ මව අතරවූ සාකච්ඡාව පිටපත් කර ඔබේ පංති කාමරයේ බිත්තියේ එල්ලා තබන්න.



## අටවැනි පාඩම

# මඟ පෙන්වන්නේ කවුරුන්ද?

මේ මිනිසාට මඟ වැරදී ඇත. ඔහු එහා මෙහා කැරකෙමින් මඟ සොයා ගන්නට වෙහෙසෙයි.

තෙමේම අතරමං වූ අයෙකුට හා මඟ වැරදී එහා මෙහා කැරකැවෙන අයෙකු අන් අයෙකු හරි මඟ යොමු කළ හැකිද?

අනුන් ඔවුන්ගේ ගමනාන්තය කරා ගෙන යාමට ඔහුට හැකිද?



මග නොදත් අයෙකු පසුපස ඔබ ගමන් කරන්නෙහිද?

ලියන්නටත්, කියවන්නටත් නොහැකි අයෙකුට අන් අයෙකුට ලියන්නටත්, කියවන්නටත් උගැන්විය හැකිද?

මේ නිසා නායකයෙකු හෝ මග පෙන්වන්නෙකු දැණුවත් හා දැණුමැති අයෙකු විය යුතුය. එසේ නොවන්නට අනෙක් අයට මග පෙන්වන්නට හා පරීක්ෂා කරන්නටත් ඔවුන් ගමනාන්තය කරා යවන්නටත් ඔහුට නොහැකි වෙයි.

මේ ළමෝ කුමක් කරමින් සිටිත්ද?

ඔවුන්ට උගන්වන්නේ කවුද?

ඔබට උගන්වනු ලබන්නට කලින් ඔබ ලියන්නටත්, කියවන්නටත් දැන සිටියෙහිද?

ඔබට ලියන්නට හා කියවන්නට උගැන්වූයේ කවුද? මග පෙන්වන්නෙකු හෝ ගුරුවරයෙකු නොමැතිව ඔබට කියවන්නටත් ලියන්නටත්, ඉගෙනිය හැකිව තිබුණිද?

මෙනයින් පංතියකට ගුරුවරයෙක් අවශ්‍ය වන්නේය.

ගුරුවරයා යනු ශිෂ්‍යයන්ගේ මග පෙන්වන්නාය. ඔහු පංතියකට අණ සපයන අතර සිසුන්ට උගන්වන්නෙක්ද වෙයි.

නබිවරුද ජනතාවගේ ගුරුවරුය. මිනිසුන් හරි මග යොමු කරන ඔවුහු ඔවුනට යහපත් මාර්ගය පෙන්වා දෙති. යහපත් දෑ කරන්නටත් නිවැරදි ගැලවුම් මග අනුගමනය කරන්නටත් ඔවුහු ජනතාව මෙහෙයවති.

## මිනිසාගේ ගුරුවරු

මනුෂ්‍යයන්ට ස්වභාවයෙන්ම හොඳ හා නරක තමන් විසින්ම වෙන්කර දැකිය නොහැක. ඔවුහු තම මැවුම්කරුවාණන් වන අල්ලාහ් නිසි ලෙස නොහඳුනති. ඔවුන්ට තනි තීරණ ගැනීමට ඉඩ හැරියොත් ඔවුන් සතුව නිසි මගක් හෝ නීතියක් නැතිවේ. ජීවිතයේ නිසි මාර්ග හා වැඩ පිළිවෙළවල් ඔවුන් තනිව හඳුනා ගන්නේද නැත.

ඔවුහු එකිනෙකාට අනුකම්පා කරන්නේ හෝ අනුන්ගේ යහපත අපේක්ෂා කරන්නේද නැත. මරණින් මතු ලොව ගැන කිසිවක් ඔවුහු නොදනිති. මෙලොව මෙන්ම මරණින් මතුවත් සෞභාග්‍යය විඳීම සඳහා කුමක් කළ යුතු දැයි ඔවුහු නොදනිති.

ජීවිතයේ වඩා හොඳ මාර්ගය ඔවුන්ට පෙන්වීමට මග පෙන්වන්නෙකු හා ගුරුවරයෙකු ඔවුන්ට අවශ්‍ය වෙයි. මේ නිසා අල්ලාහ් මිනිස් සමාජයේ ගුරුවරුන් වන්නටත් ඔවුන්ට යහපත්ම හා ඉහළම ජීවන මාර්ගය පෙන්වා දෙන්නටත් නබිවරුන් තෝරා ගත්තේය.

නබිවරුන් මිනිසුන්ට රමණීය ආචාර ධර්ම හා දෙවියන් වහන්සේට වඳින අයුරු කියා දෙති.

නබිවරුන් විසින් රමණීය ආචාර ධර්ම නැමැති බිජුව මිනිසුන් අතර වපුරනු ලැබ ඇත. අල්ලාහ් වන්දනය කිරීම, සමාජයේ සෙසු අයට ආදරය කිරීම ආදිය මිනිසුන් තුළ ඇති කර මිනිසුන්ට වඩාත් යහපත් සහ වඩාත් උතුම් ජීවිතයක් ගෙවන්නට පෙන්වා දුන්නේ මොවුහු වෙති.

මිනිසා අද පත්ව සිටින මට්ටම තෙක් යොමු කරවන ලද්දේ නබිවරුන් විසිනි. මෙලොවදීත්, මරණින් මතු ලොවේදීත්

සෞභාග්‍යයෙන් ජීවත් වන්නටත් ඔවුන්ගේ උගැන්වීම් වලින් ප්‍රතිලාභ ලබන්නටත් අප සියල්ලන්ටම නබිවරු අවශ්‍ය වෙයි.

කාලයේ ආරම්භයේ පටන් මිනිසුන් අතර නබිවරුන් සිටි අතර අල්ලාහ් මෙන්ම යහපත් ගැනත් ඔවුන් විසින් සැම විටම කතා කරනු ලැබ ඇත.

## කල්පනා කර බලා පිළිතුරු සපයන්න.

1. නබිවරුන් තෝරා ගත්තේ කවුද?
2. වඩාත් යහපත් හා වඩාත් උතුම් ජීවිතය මිනිසුන්ට පෙන්වා දුන්නේ කවුද?
3. මඟ වැරදුණු පුද්ගලයෙකුට අනෙක් අයට මඟ පෙන්වීමට හැකිද?
4. කියන්නටත් ලියන්නටත් නොහැකි අයෙකුට අනුන්ට කියවන්නටත් ලියන්නටත් ඉගැන්විය හැකිද?
5. මිනිසුන් අතර රමණීය හැසිරීම නැමැති බීජුව වපුරනු ලැබ ඇත්තේ කවුරුන් විසින්ද?
6. අල්ලාහ් විසින් ඔහුගේ නබිවරුන්ට පවරනු ලැබ ඇති වගකීම කුමක්ද?

**පහත සඳහන් වාක්‍යය සම්පූර්ණ කරන්න**

අ. නායකයා සහ මහ පෙන්වන්නා ................. සහ ..........................විය යුතුය. එසේ නොවන්නට ඔහුට ඔවුන්.................... කරා යවන්නට නොහැකි වෙයි.

ආ. නබිවරු................ට යහපත්ම හා ඉහළම ජීවන මාර්ගය පෙන්වා දෙති.

ඇ. අල්ලාහ් විසින් ඔවුන්ට මේ මහ ......................ලැබ ඇත.

ඈ. සියලුම මිනිසුන්ට නබිවරුන් ...................වන්නේ ඔවුන්ගේ ....................වලින් නිසි ප්‍රතිලාභ ලබන්නාටය.



නව වැනි පාඩම

# නායකයා සහ ගුරුවරයා

නබිතුමාණෝ මිනිසුන්ගේ දැනුවත් නායකයා සහ ගුරුවරයායි. මිනිසුන්ට මඟ පෙන්වීම සඳහා අවශ්‍ය සෑම දෙයක්ම එතුමෝ දනිති. ආගමේ සියලු උපදෙස් මෙන්ම සියලු යහපත හා අයහපත් ක්‍රියාවන් ද එතුමාණෝ දන්නෝය.

නබිතුමාණෝ අල්ලාහ් හොඳින් හඳුනති. මරණින් මතු ලෝකය ගැන දැනුමැති එතුමාණෝ ස්වර්ගය සහ අපාය යන දෙකෙහිම ස්වභාවය ද හඳුනන්නෝය. යහපත් හා අයහපත් ආචාර ධර්ම සහ හැසිරීම් පිළිබඳව එතුමන්ට පිරිපුන් දැනීමක් ඇත. දැනුම අතින් එතුමාණෝ මිනිසුන් අතරින් පෙරමුණේ සිටින අතර එතුමන්ගේ තත්ත්වය ලබා ගන්නට කිසිවෙකුට නොහැකිය.

සියල්ල දන්නාවූත් සියළු බලයෙන් යුක්ත වූත් අල්ලාහ් මේ සියලු දැනුම නබිතුමාණන් විසින් සාක්ෂාත් කරගනු ලබන්නට සැළැස්වූයේ එතුමා ලවා මිනිසුන්ට මඟ පෙන්වීමටත් ඔවුන් පරීක්ෂාවට ලක් කිරීමටත්ය. නබිතුමාණෝ මිනිසුන්ගේ ගුරුවරයාණෝද ඔවුන්ගේ පිරිපුන් නායකයාණෝද වෙති.



## දසවැනි පාඩම

# අල්ලාහ් ගේ අවසාන නබිවරයා මුහම්මද් සල්ලල්ලාහු අලෛහිවසල්ලම්

මුහම්මද් නබිතුමා රබිඋල් අව්වල් මාසයේ මක්කා නගරයේදී අබ්දුල්ලාහ් සහ ආමිනා යන දෙමාපියන් ගෙන් උපන්නෝය. එතුමන්ගේ පියා වූ අබ්දුල්ලාහ් මිය යන විට එතුමන් මෙලාවෙ එළිය දැක තිබුණේ නැත. එතුමන් ගේ මව එතුමන් හය හැවිරිදි වයසට පැමිණෙන තුරු ජිවත්ව සිටියාය. පසුව එතුමිය ද මිය ගියාය.

මවගේ මරණින් පසු එතුමන්ව රැක බලා ගන්නා ලද්දේ සීයා වූ අබ්දුල් මුත්තලිබ් විසිනි.

අබ්දුල් මුත්තලිබ් කුඩා මුහම්මද්ට බොහෝ ආදරය කළ අතර ඔහුට බොහෝ දයාව කරුණාව දැක්වූයේය. ශ්‍රේෂ්ඨ නබිවරයෙකු බිහිවන බව ක්‍රිස්තියානි ආගමිකයන්ගෙන් සහ යුදෙව්වන්ගෙන් දැන ගත් හෙතෙම එම ලකුණු මුහම්මද් කෙරෙන් දුටු සෙයකි.

අබ්දුල් මුත්තලිබ් අරාබි වැසියන් ගේ ඉමහත් ගෞරවයට ලක් වූ කෙනෙක් විය. කෑබාවේ පසෙකින් හිඳ ගන්නා ඔහු වටා මිනිසුන් හිඳ ගැනීම සිරිතක් විය. ඔහු අසලින්ම හිඳ ගත්තේ මුහම්මද් පමණකි. විටෙක ඔවුන් මුහම්මද් තම සීයා කරා ළඟා වීම වැළැක්වූ කල අබ්දුල් මුත්තලිබ් මෙසේ කියයි.

''මගේ දරුවාට එන්නට ඉඩ දෙන්න. අල්ලාහ් ගේ නාමයෙන් දිවුරා කිවහොත් ඔහුගේ මුහුණේ ශ්‍රේෂ්ඨ ලක්ෂණ තිබෙන්නේය. දිනෙක ඔහු ඔබ සැමගේ ශ්‍රේෂ්ඨ නායකයා වී ඔබ අවමානයෙන්, අසාධාරණයෙන් හා පීඩනයෙන් ගළවා ගන්නා සේ මට පෙනේ.''

මුහම්මද් තමා අසලින් හිඳුවා ගන්නා අබ්දුල් මුත්තලිබ් ඔහුගේ පිටට ආදරයෙන් තට්ටු කරයි. මුහම්මද් ගේ අනාගතය ගැන තමන් දැන

සිටි නිසා සෑම විටෙකම ඔහු කෙරෙහි රැඳී සිටීමට, ඔහු සමඟ ආහාර ගන්නට, ඔහු රැක බලා ගන්නට පුරුදු වී සිටි අබ්දුල් මුත්තලිබ් මුහම්මද් කෙරෙන් ඈත් වන්නේ අවශ්‍ය වූ විටෙක පමණි.

ළමා වියේ පටන් මුහම්මද් තුමා බෙහෙවින් තීක්‍ෂණ හා බුද්ධිමත් අයෙක් වූයේය. ඔහුගේ මයිලනුවන් වූ අබු තාලිබ් ඔහු ගැන මෙසේ කියා ඇත.

''ආහාර ගැනීම පටන් ගන්නට පෙර ඔහු *බිස්මිල්ලාහ්* යයි පවසන අතර ආහාර ගැනීමෙන් පසු *අල් හම්දුලිල්ලාහ්* යයි කියමින් ඔහු අල්ලාහ්ට තුති පුදයි.''

''මුහම්මද් කිසි විටෙක බොරුවක් කියනු මම අසා නැත. එලෙසින්ම කිසිදු වැරදි වැඩක් ඔහු අතින් සිදුවනු මම දැක නැත. හඬ නගා සිනාසීම ඔහුට නුහුරු දෙයක් වූ අතර ඔහුගේ සිනහව හුදු මදහසක් පමණක් විය. අනෙක් දරුවන්ට කරුණාවන්ත වූ ඔහු කිසි විටෙකත් ඔවුන්ට නරක නම් පට බැන්දේ නැත.

## කල්පනා කර පිළිතුරු සපයන්න

1. මුහම්මද් නබිතුමා ඉපදුණේ කුමන අවුරුද්දේ ද?
2. ඔහුගේ පියාගේ නම කුමක් විද?
3. මුහම්මද් තුමා සහ අබ්දුල් මුත්තලිබ් අතර පැවති ඥාති සම්බන්ධය කුමක්ද? අබ්දුල් මුත්තලිබ් ඔහු ගැන කුමක් කීවේද?
4. යුදෙව් සහ ක්‍රිස්තියානි වියත්තු කුමක් පැවසුවෝද?
5. මුහම්මද් තුමා ළමා කාලයේදී කෙලෙස හැසිරුණෝද? ඔහුගේ මයිලනුවන් ඔහු ගැන කුමක් කීවේද?

**අභ්‍යාස**

අ. ඔබේ පවුලේ සාමාජිකයෙකුට මේ පාඩම කියවන්න.

ආ. පස්වැනි ප්‍රශ්නයට පිළිතුරු සපයන්න.

ඇ. කල්පනා කර බලා මේ පාඩමට අදාල තවත් ප්‍රශ්න දෙකක් ගොඩ නගන්න.



## එකලොස් වැනි පාඩම

# මුහම්මද් අල් අමීන්

## (විශ්වාස කටයුතු මුහම්මද්)

එක්තරා වසරෙක මක්කාවේ විසූ මිනිස්සු ශුද්ධවූ කෑබාව නැවත ගොඩ නගමින් සිටියෝය. ශුද්ධවූ කෑබාව වනාහී ලොව මුල් වරට ගොඩ නැගුණු වන්දනා ස්ථානයයි. එය ගොඩ නගන ලද්දේ ශුද්ධවූ ඊබ්‍රාහීම් නබිතුමාත් ඔහුගේ පුතාවූ ඉස්මායිලුත් විසිනි. දැන් මක්කාවේ සියළුම මිනිස්සු එකතු වී එය නැවත ගොඩ නැගීමේ කටයුත්තෙහි නියැලුණහ.

කෑබාවේ බිත්තියේ හජ්රුල් අස්වාද් නම් කළු ගල තැබිය යුතු තැනට ළංවිය. හජ්රුල් අස්වාද් යනු කෑබාවේ පිහිටි බෝහෙවින් ගෞරවය ලද තැනකි. දැන් එහි සිටි උතුමෝ සියල්ලෝම එම කළු ගල නියමිත තැන තැබීමේ අවස්ථාව ලබා ගනිමින් තමන්ටත් තම ගෝත්‍රයටත් ගරු බුහුමන් ලබා ගැනීමට වලි කෑවෝය. ක්‍රම ක්‍රමයෙන් එය විශාල අරගලයක් බවට පත්වුණි. එයින් දේවස්ථානය ගොඩනැගීමේ කටයුතු ද නතර වුණි. සියලු උතුමෝ ''හජ්රුල් අස්වාද්'' ගල නියමිත තැන තිබිය යුත්තේ මමයි.'' යයි කියන්නට වූහ.

මෙම ගැටුම බෙහෙවින් දරුණු බවට පත්වී තත්ත්වය බෙහෙවින්ම බියකරු වූයේය. මක්කාවේ සිවිල් යුද්ධයක් ඇරඹෙන්නට යන බව කාටත් අවබෝධ විය. උතුමෝ තම ගෝත්‍රවලටත් බලඇණි වලටත් යුද්ධය සඳහා සූදානම් වන ලෙස උපදෙස් දුන්නෝය.

එවිට බුද්ධිමත් මිනිසෙක් කටහඬ අවදි කළේය. ''මිනිසුනි, එකිනෙකාට එරෙහිව යුද වදින්න එපා. යුද්ධය නිසා ඔබේ නිවෙස් හා

නගරය විනාශ වන්නේය. එය මිනිසුන් කෙරෙහි දුර්දන්ත කාලයක් කැඳවන්නේය. අමන ක්‍රම අනුගමනය නොකරන්න. ඔබේ ගැටලුවට විසඳුමක් සොයා ගන්න'' යයි ඔහු කීවේය.

''අපි කුමක් කරමුද?''



''අපේ ගැටළුවට විසඳුම කුමක්ද?''

''ඔබ ඔවුනොවුන් අතර ගැටුම් නිමා කරන්නටත්, මත සමථයක් ඇති කරන්නටත් මත සමථ කරුවෙකු පත් කළ යුතුය.''

''අපි එය පිළිගනිමු '' යයි සියළු උතුමෝ එක හඬින් කීහ. ''එය හොඳ යෝජනාවකි. නමුත් මත සමථය කරන්නේ කවුද?'' සෑම උතුමෙකුටම මත සමථකරු වශයෙන් තමන්ගේ ගෝත්‍රයේ අයෙකු පත් කර ගන්නට අවශ්‍ය විය. ඒ එයින් තමන්ට විසඳුමක් තීරණය වන බව දැන සිටි නිසායි. යළිත් එම කටයුත්ත මත ගැටුමකට යොමුවුණි.

කලින් යෝජනාව ගෙනා බුද්ධිමත් මිනිසා තවත් යෝජනාවක් ඉදිරිපත් කළේය.

''ඔබලා සියල්ලන්ටම එක් මත සමථකරුවෙකු පත් කර ගැනීමෙ එකඟත්වයකට පත් විය නොහැකි නිසා මෙ මස්ජිද් අල් හරාම් දේවස්ථානයේ දෙරටුවෙන් මුලින්ම ඇතුළු වන තැනැත්තා මත සමථකරු ලෙස තෝරා පත් කර ගනිමු'' යයි කියමින් ශුද්ධවූ දේවස්ථානයේ දෙරටුව දෙසට ඇඟිල්ල දිගු කළේය.

''අපි ඊට එකඟ වෙමු'' යයි උතුමෝ කීහ. ඔවුන්ගේ තියුණු දෑස් දේවස්ථානයේ දෙරකඩට යොමු විය. එතැනින් ඇතුළු වන්නේ කවුද? මත සමථය ඇති කරන්නේ කවුද? මත සමථය කුමන ගෝත්‍රයකට පක්ෂපාත වෙයිද? ආදී වශයෙන් සිත් කුතුහලයෙන් පිරුණි.

තරුණයෙක් දෙවස්ථානයේ දෙරටුවෙන් ඇතුළු වුණි. එය දුටු කාගේත් සිත් පහන් විණි.

''ඔහු මුහම්මද්ය'' ඔවුන් කියන්නට වූහ. ''මුහම්මද් අල් අමීන්, විශ්වාස කටයුතු මුහම්මද් ඔහු මිස වඩා තව හොඳ එකෙක් වෙයිද? ඔහුගේ මථ සමථය අපි පිළිගනිමු.''

මුහම්මද් ශුද්ධවූ දේවස්ථානයට ඇතුළුවූ විට සියල්ලෝම ඔහු වට කරගෙන ඔවුනොවුන් අතර පැවති ගැටුම හෙළි කළෝය. මොහොතක් කල්පනා කළ මුහම්මද් ඔවුන්ට මෙසේ කීවේය.

'මෙ වැදගත් කර්තව්‍යයේදී මක්කාවේ සිටින ප්‍රකට මිනිසුන් සෑම දෙනාම එකමුතු විය යුතුය.''

''එය කළ හැක්කේ කෙසේද?'' ඔවුහු තම තමන්ගෙන්ම අසා ගත්තෝය.

සෑම ගෝත්‍රයකම නායකයා ඊට සහභාගි කරවන මෙන් මුහම්මද් ඔවුනට උපදෙස් දුන්නේය. ඒ සියල්ලන්ම එහි පැමිණි විට මුහම්මද් තම තලප්පාව ගළවා බිම ඇතිරුවේය. ඊළඟට අල් හජ්ර් අල් අස්වාද් ගල ඒ මත තැබුවේය. ඊට පසු ඔහු සියළුම ගෝත්‍ර නායකයින්ට තලප්පාව ඔසවා ගෙන ගල කඃබාවේ කෙළවරට ගෙන එන ලෙස අණ කළේය.

ඔවුන් එසේ කළ විට මුහම්මද් මෘදු ලෙස හජ්රුල් අස්වාද් ගල නිසි පිහිටුමට පත් කළේය.

මක්කාවේ සියළුම මිනිසුන් සතුටටත්, තෘප්තියටත් පත්වූහ. එමෙන්ම මුහම්මද් ගේ පරිණත දර්ශනය ගැන ඔවුහු ඔහුට සුභ පැතූහ.

මෙ කාලය වනවිට මුහම්මද් තරුණයෙකුව සිටි අතර නබි මෙහෙවර ඔහුට පවරනු ලැබ තිබුණේ නැත. කෙසේ වතුදු ඔහු අවංක හා සත්‍යවාදී අයෙකු නිසා ඔහු මුහම්මද් අල් අමීන් යනුවෙන් හැඳින්වුණි. එහි අදහස ''විශ්වාස කටයුතු මුහම්මද්'' යනුයි.

සියළු මිනිසුන් ඔහු කෙරෙහි සම්පූර්ණ විශ්වාසය තබා තමන්ගේ වටිනා දෑ ඔහු වෙත රඳවා තැබූහ. මෙ විශ්වාසය නිසි ලෙස සුරකිමින් ඔහු ඔවුන් ඒවා ආපසු ඉල්ලා සිටි විට පරෙස්සමින් යළි ඒවා ඔවුන්ට පැවරුවේය. තම තමන් අතර පැවති මත ගැටුම් හා ගැටළු මිනිසුන් ඔහු වෙත ගෙන ආහ. ඔහුගේ මත සමථය සෑම කෙනෙක්ම පිළිගන්නට පුරුදු විය.

අපගේ අවංක හා විශ්වාස කටයුතු නබිවරයාට සාමය හා ආශීර්වාදය හිමිවේවා!

**කල්පනා කර බලා පිළිතුරු සපයන්න.**

1. තරුණයෙකුව සිටියදී මුහම්මද්ව හඳුන්වන ලද්දේ කවර නමකින්ද?
2. මුහම්මද් මස්ජිදුල් හරාම් දේවස්ථානයට ඇතුළුවූ විට මිනිස්සු කුමක් කීවෝද?

3. ඔබගේ මිතුරන් අතරින් වඩාත්ම විශ්වාසය තැබිය හැක්කේ කා කෙරෙහිද?

4. ඔබේ මිතුරන් ඔබ ගැන විශ්වාස කරත්ද? ඔබගේ මත සමථය ඔවුහු පිළිගනිතිද?

5. ඔබ පුස්තකාලයකින් පොතක් ලබා ගෙන ඇතිද? ඔබ එය ආරක්ෂා කරන්නේ කෙසේද?

අභ්‍යාස

1. මේ පාඩමේ එන කතාවේ සාරාංශයත් ලියා ඔබේ පංතියේ මිතුරන්ට ඇසෙන සේ කියවන්න.

2. මෙම කතාවේ එන සිද්ධිමක් චිත්‍රයට නගන්න.

3. ඔබගේ පවුලේ සාමාජිකයන්ට ඇසෙන සේ මේ කතාව කියවන්න.



# කරුණාවන්ත නබිවරයා.

ශුද්ධවූ මුහම්මද් නබි තුමා සැම විටම දුර්වලයන්ට, වියපත්වූවන්ට සහ බාලයින්ට කරුණාවන්ත සහ අනුකම්පා සහගත වූවේය. සාමූහික වන්දනාවේදී නැමීම සහ සුජූද් කිරීම වැනි අවස්ථාද වියපත් හා රෝගී උදවියට අපහසුවක් නොවන්නට ඒ අවස්ථා වැඩි කාලයක් පවත්වා නොගැනීමට ද එතුමාණෝ පෙළඹුණහ.

දිනක් එතුමෝ වන්දනයේදී සුජූද් ඉරියව්වෙහි වෙනදට වඩා දිගු වේලාවක් ගත කළෝය. එම පිරිස සමඟ වන්දනාවේ යෙදුණ නබිතුමන්ගේ සගයෙක් මෙස් කියයි.

''සුජූද් කිරීමෙන් මම මගේ හිස එසවීමි. නමුත් ඒ වන විටත් ශුද්ධවූ නබිතුමාණෝ තවමත් සුජූද් කරමින් සිටින බව මට වැටහුණි. මම නැවතත් පසඟ හොවා වන්දනා කිරීමේ අවස්ථාවට පැමිණ, ශුද්ධවූ නබිතුමා සුජූද් නිම කොට ''අල්ලාහ් අක්බර්'' යයි හඬ කියන තෙක් ඒ ඉරියව්වෙහිම සිටියෙමි. සෑහෙන වේලාවකට පසු එතුමන් ''අල්ලාහ් අක්බර්'' යැයි කියනු ඇසුණ පසු මම සුජූද් කිරීම අවසන් කර මගේ හිස එසවූයෙමි. එතුමන් මෙතරම් දිගු වේලාවක් සුජූද් හි ඇයි දැයි කිසිවෙක් නොදත්තේය.''

වන්දනය අවසන් වූ පසු එක් සගයෙක් නබිතුමා වෙත පැමිණ ''අල්ලාහ් ගේ නබිතුමානනි, සාමූහික වන්දනයේදී ඔබ සැම විටම සුජූද් කිරීමේ අවස්ථාවට ගත කරන්නේ සුළු කාලයකි. අද ඒ සඳහා වැඩි කාලයක් ගත්තේ ඇයිද?'' යි ඇසුවේය.

නබිතුමාණෝ ඔහුට මෙසේ කීහ.

''මා වන්දනය කරන අවස්ථාවේදී මගේ කුඩා මුණුබුරා වන හුසේන්

පැමිණ මගේ උකුල මත වාඩි ගත්තේය. ඔහුට එතැන මද වේලාවක් රැදෙන්නට ඕනෑ කළ සෙයකි. ඔහුගේ සිතැඟි නොබිඳවා ඔහු මගෙන් ඉවත් වන තුරු මම ඒ ඉරියව්වෙන්ම සිටියෙමි.''

අපගේ ශුද්ධවූ නබි තුමාණෝ ළමයින්ට බෙහෝ ආදරය කළෝය. ඒ කෙතරම්ද යත් යාඥාවේ යෙදී සිටින විට පවා එතුමෝ ඔවුනට අනුකම්පා සහගත වූණි. ශුද්ධවූ නබි තුමාණෝ සිය සගයන්ට නිතර මෙසේ පැවසූහ.

''දරුවන් කෙරෙහි කරුණාව සහ දයාව දැක්වීම නබිවරුන්ගේ චර්යාවේ කොටසකි.

වියපත් අයට ගරු නොකරන හෝ දරුවන්ට කරුණාව දයාව නොපෙන්වන කවරෙකු හෝ මුස්ලිමෙක් නොවෙයි.''

**කල්පනා කර බලා පිළිතුරු සපයන්න.**

1. සාමූහික වන්දනයේදී ශුද්ධවූ නබි තුමාණෝ සුජූද් කිරීම සඳහා අඩුවෙන් කාලය ගත්තේ ඇයි?

2. එක් දිනයක එතුමෝ ඒ සඳහා වැඩි කාලයක් ගත්තේ ඇයි?

3. නබි තුමාණෝ දරුවන් කෙරෙහි කෙසේ හැසිරුණෝද?

4. එතුමෝ අපට දරුවන් ගැන කුමක් කියත්ද?

5. එතුමෝ අපට වැඩිමහල්ලන් ගැන කුමක් කියත්ද?

6. නබිවරු ළමයින් කෙරෙහි හැසිරෙන්නේ කෙසේද?

7. ඔබ ඔබේ දෙමාපියන් සහ ගුරුවරුන් කෙරෙහි හැසිරෙන්නේ කෙසේද?

8. ඔබට වඩා බාලයින්ට ඔබ සළකන්නේ කෙසේද?

**අභ්‍යාසය**

මෙම පාඩම සඳහා සිත්ගන්නා සුළු හා ප්‍රයෝජනවත් අභ්‍යාස කීපයක් ගැන සිතා බලන්න.

## දහතුන් වැනි පාඩම

# පිරිපුන් ආගම - ඉස්ලාම්

ඉස්ලාම් දහම ලොව සියළු ආගම් අතුරින් හොඳම සහ වඩාත්ම පිරිපුන් ආගමයි. අල්ලාහ් අප කෙරෙහි කරුණාවෙනුත් දයාවෙනුත් නබි ( සල්) තුමාණන් තුළින් අපට ඉස්ලාම් දහම එවූවේය. නබි ( සල්) තුමාණෝ අපට අල්ලාහ් වන්දනා කරන අයුරු සහ හොඳම ජීවන මාර්ගය ඉගැන්නුවෝය. කුර්ආනයෙන් අල්ලාහ් අපට මෙසේ කියයි.

''පුද්ගලයෙකු ඉස්ලාමය ප්‍රතික්ෂේප කර වෙනත් ආගමක් තෝරා ගන්නේ නම් එය ඔහු කරන වරදකි. මේ නිසා මරණින් මතු ලොවේදී ඔහු පරාජිතයන් අතරින් කෙනෙක් වෙයි.''

ඉස්ලාම් දහම අපට අල්ලාහ් පිළිබඳ සත්‍ය දැනුමත්, දෙමාපියන් සමඟ හැසිරෙන අයුරුත් මෙලොවදී හා මරණින් මතු ලොවේදී සතුටින් ගත කරනු පිණිස කළ යුතු දේත් උගන්වයි.

ඉස්ලාම් දහම අපට යෙදෙන්නට අවසරය ඇති ( හලාල්) දැයත්, යෙදිය යුතු නැති ( හරාම) දැයත් උගන්වයි.

ඉස්ලාම් දහම ලොව සියළුම පීඩිත මිනිසුන්ගේ නිදහසට මඟ හෙළි කරන්නේය.

### මුස්ලිම්වරයෙක් යනු කවරෙක්ද?

මුස්ලිම්වරයෙක් යනු

අ. එකම අල්ලාහ් සහ මරණින් මතු ලොව ගැන විශ්වාස කරන

ආ. අල්ලාහ්ගේ නබිවරුන්ගෙන් අවසානතමයා මුහම්මද් ( සල්) තුමා බව අදහන

ඇ. සෑම කටයුත්තකදීම අල්ලාහ්ගේත්, මුහම්මද් ( සල්) තුමාගේත් උපදෙස් වලට නතුවෙන

ඇ. මුස්ලිම්වරු සමඟ සුහදවී ඔවුන්ට උදවු කරන අතර සියළු කෲර පාලකයන්ගේ සතුරෙක් වන අයෙක්ය.

## කුර්ආනය සහ දෙවියන්ගේ පණිවුඩය

කුර්ආනය දිව්‍යමය පණිවුඩයක් වන අතර එය අපේ ජීවන වැඩ සටහනද වෙයි. අල්ලාහ් අප කෙරෙහි කරුණාවෙන් ඔහුගේ නබි මුහම්මද් (සල්) තුමන් තුළින් ආලෝකය හා මඟ පෙන්වීම රුගත් මේ පොත මිනිස්වග වෙත එවුවේය.

කුර්ආනය වනාහි සත්‍යය, සාධාරණය සහ නිදහස පිළිබඳ ග්‍රන්ථයකි. එය අපට ඉහළම හා උතුම්ම ජීවන මාර්ගය උගන්වයි. එය අපට අල්ලාහ් පිළිබඳ දැනුම සහ ඔහු වන්දනා කරන ක්‍රමයද උගන්වයි. එමෙන්ම එය අපට ආචාරධර්ම සහ චර්යාවන් කෙරෙන් හොඳ හා නරක පිළිබඳ සම්පූර්ණ ලෙස තීරණය කිරීමද උගන්වයි.

කුර්ආනය අපට ආත්ම පරිත්‍යාගය ගැනද කියා දෙයි. එය අපට කියන්නේ '' පීඩානොකරන්න; පීඩාවට නතු නොවන්න.'' යනුවෙනි. කුර්ආනය අපට මෙසේද කියයිඃ අල්ලාහ් ගේ බලය හා ආධිපත්‍යය කෙරෙහි බලාපොරොත්තු තබාගන්නා අතර ඔහු හැරෙන්නට අන් කෙනෙකු ගැන බිය නොවන්න. අවිශ්වාසවන්තයින් හා කෲර පාලකයින්ට සමාව නොදෙන්න. ඔවුන් කෙරෙහි දරුණු වන්න; ඔවුන් දණගස්සවන්න. නමුත් එකිනෙකාට කරුණාවන්ත වන්න; දයාබර වන්න.

කුර්ආනය යළිත් පවසන්නේ: ''එකමුතු වී සත්‍යයේත් සාධාරණත්වයේත් හඩ හෙළා නගන්න. ආගමික නායකයින්ට කීකරු වෙමින් කෲර පාලකයින්ට එදිරිව සටන් වදින්නට දෙන අණ පිළිපදින්න. කෲරබවේ හස්තයෙන් මිනිසුන් මුදවා ගන්න. මේ අයුරින් ඔබට නිදහසේත්, ගරු කටයුතු ලෙසත් මෙලොව ජීවත් විය හැකි අතර මරණින් මතු ලොවේ ආශිර්වාද සහ මහඟු බව ද ලැබිය හැකිය.

මුස්ලිම්වරුන් කුර්ආනය කියවීමට උගත යුතු අතර ආගමික වියතුන් ගේ උපකාරයෙන් හා මඟ පෙන්වීමෙන් එහි අඩංගු දෑ තේරුම්

ගත යුතු වෙති. මුස්ලිම් පුද්ගලයා කුර්ආනයේ ජීවනය ලෙන දෙන හා විමුක්තිය ලබා දෙන උපදෙස් තෙමේම පිළිපැදිය යුතු අතර අනෙක් අයට ඒවා උගැන්විය යුතු ද වෙයි.

අපේ ශුද්ධවූ නබිතුමා අපට කියන්නේ ''ඔබලා අතරින් යහපත්ම තැනැත්තේ කුර්ආනය ඉගෙන ගන්නේ මෙන්ම එය අනුන්ටය උගන්වන්නේද වෙයි.'' යනුවෙනි. එලෙසින්ම ඔහු අපට කියන්නේ ''ඔබලා අතුරින් යහපත්ම තැනැත්තා කුර්ආනය ඉගෙන ගන්නේ මෙන්ම එය අනුන්ට උගන්වන්නේද වෙයි.'' යනුවෙන්ය.

එලෙසින්ම ඔහු අපට ''කුර්ආනය අනුගමනය කරන කවරෙකු වුව පාරාදිසයට මඟ පාද ගන්නේය. කුර්ආනය නොතකා සිටින්නේ නිරයට නියම වන්නේය.'' යනුවෙන් කියා දී ඇත.

### කල්පනා කර බලා පිළිතුරු සපයන්න.

1. ඉස්ලාම් ආගම යනුවෙන් හැඳින්වෙන්නේ කවර ද ැද? ඉස්ලාම් දහම අපට උගන්වන්නේ මොනවාද?
2. මරණීන් මතු ලොවේ පරාජිතයන් වන්නේ කවුරුද?
3. 'හලාල්' යනු කවර ද ැද? ''හරාම්'' යනු කවරේද?
4. මුස්ලිම්වරයෙක් යනුකවරෙක්ද? මුස්ලිම්වරයෙක් නතු වන්නේ කුමකටද?
5. කුර්ආනය කාගේ වචනය හා පණිවුඩය ඉදිරිපත් කරන්නේද?
6. අප බලාපොරොත්තු තැබිය යුත්තේ කුමක් මතද?

7. කුර්ආනය ඉගෙන ගැනීම සඳහා ඔබ සතු වැඩ පිළිවෙළ කුමක්ද?

8. යමෙක් කුර්ආනයේ උපදෙස් වලට අනුව ක්‍රියා කරන්නේ නම් මෙලොවදීත්, මරණීන් මතුවත් ඔහු කෙසේ ජීවත්වනු ඇතිද?

9. යහපත්ම අය වන්නේ කවුරුද?

## මෙම වාක්‍ය සම්පූර්ණ කරන්න

අ. ඉස්ලාම් දහම .......මඟ හෙළි කරන්නේය.

ආ. මුස්ලිම්වරුන් සෑම දෙයකම............ දැය අනුගමනය කරති.

ඇ. මුස්ලිම් තැනැත්තා...සමඟ සුහදවී ඔවුන්ට උදව් කරන අතර කෲර පාලකයන්ගේ සතුරෙක් වෙයි.

ඈ. කුර්ආනය................පණිවුඩයක් වන අතර එය අපගේ ජීවන ......................ද වෙයි.

ඉ. කුර්ආනය වනාහි...............හා...............ක් රැගත් පොතකි.

ඊ. එය අපට ඉහළම සහ උතුම්ම ජීවන.......උගන්වයි.

එ. එය අපට ......හා .....කෙරෙන් ...........හා ......පිළිබඳව තීරණය කිරීමද උගන්වයි.

ඒ. කුර්ආනය වනාහි......පිළිබඳ පොතකි.

උ. කුර්ආනය අපට කියන්නේ: පීඩානොකරන්න. පීඩාවන්ට නතු නොවන්න. මරණයට.........නොවන්න. එමෙන්ම කෲර පීඩාකාරී පාලකයින් සමඟ .......ට පත් නොවන්න.

ඉ. කුර්ආනය අපට මෙසේ ද පවසයි: අල්ලාහ් ගේ බලය හා ආධිපත්‍යය කෙරෙහි බලාපොරොත්තු තබාගන්නා අතර ඔහු හැර අන් කෙනෙකු ගැන..........................නොවන්න.

ඔ. කුර්ආනය යළිත් පවසන්නේ:

එකමුතු වී සත්‍යයේත් සාධාරණත්වයේත් හඩ එක හෙලා නගන්න......... ට කීකරු වෙමින් කෲර පාලකයින්ට එරෙහිව..............ට දෙන අණ පිළිපදින්න. කෲර බවේ හසතයෙන් ........මුදවා ගන්න.

ඕ. අපේ ශුද්ධවූ නබිතුමාණන් අපට මෙසේ කියාදී ඇත.

1. ..............................................................
2. ..............................................................
3. ..............................................................
4. ..............................................................
5. ..............................................................

දහ හතරවැනි පාඩම

# ශුද්ධ වූ කුර්ආනය

මඟ එළි මවන පිරිසිදු
දිදුලන පහන් රැස් බඳු
තිමිර වනසන සඳු
ලෙසින් දැසට සිසිල දෙන මුදු

නිවැරදි ඍජු ගමන් මඟ
මේ යයි කියූ දෙවි අණ
ඉටු මිතුරෙකුට ගෙන
පිළිපදිනු වෙසෙන හැම දෙන

සතුට සැම සැප ඉතිරෙන
සදෙව් ලොව වෙත පිවිසෙන
තුරු එය නොම තකන
අයට නිරයට මඟ මවා දෙන
කුර්ආනය නිති සුරකිනු
එයින් දිවි සරු කරගනු
නැණවතුන් මඟ යනු
ධනය හා දිවි පුද සුරකිනු
මේ කවි පෙළ කටපාඩම්කර ගන්න.

## පහළොස් වැනි පාඩම

# කාර්යශූරත්වය සහ ත්‍යාගවන්තභාවය

හස්රත් අලී ප්‍රසන්න පුද්ගලභාවයකින් යුතුවූ කාර්යශූර අයෙක් විය. මිදි උයන් වගා කිරීමේදීත් එල නෙලා ගැනීමේදීත් ඔහු එකසේ කාර්ය ශූරව කටයුතු කළේය. බිම් කුට්ටි කිහිපයක් හා මිදි උයන් රැසක් අස්වැද්දූ ඔහු ඊට පසු ඒවා සියල්ල අල්ලාහ් වෙනුවෙන් පරිත්‍යාග කළේය.

දිනක් ඔහු වගා කිරීම සඳහා මදීනාවෙන් බැහැර නිසරු ඉඩම් කුට්ටියක් ලබා ගත්තේය. මේ ඉඩම වගා කිරීමට නම් ළිඳක් කැණිය යුතු බව ඔහුට වැටහුණි. සුදුසු තැනක් සොයා ගෙන තමන්ගේ බලාපොරොත්තු සියල්ල අල්ලාහ්ට පවරා දී ඔහු ළිඳ කනින්නට පටන් ගත්තේය.

දින ගණනක් ගත විය. නමුත් ළිඳෙන් ජලය උනන බවට ලකුණකුදු පහළ වී නොතිබුණි.

දිනක් හස්රත් අලී ගල් කටුවක් අතට ගත්තේය. ළිඳට බැස ශ්‍රමය හා මහන්සිය මුළුමනින්ම යොදා සැහෙන වේලාවක් වැඩ කළේය. නමුත් ජලය උනන බවට ලකුණකුදු තවමත් පහළ නොවුණි. අතිශයින් විඩාවට පත් ඔහු ඊළඟට ළිඳෙන් පිටතට අවුත් නළල මත ඩාදිය පිසදගෙන ටික වේලාවක් විවේක ගත්තේය. පසුව ඔහු යළිත් ළිඳට බැස්සේය. ඔහු මෙවර ගල්කටුව කොතරම් වැර යෙදූ බිම ඇන්නේද යත් ඔහුගේ හුස්ම හඬ පවා අවට ඇසෙන්නට විය. ගල් කටුවෙන් දැඩි පහරක් ලැබ පොළොව එක්වරම දෙබෑවී පිරිසිදු පැහැදිලි ජලය බුබුළු නඟමින් පිටතට ගලා එන්නට විය. වහා එතැනින් ගොඩට ආ ඔහු ඒ නිසරු කතරේ අවට සියළු බිම් අලංකාර මිදි උයනක් කරන්නට පිරී ගිය ආශ්චර්යයමත් ළිඳ දෙස බලා සිටියේය.



වැඩි වේලාවක් යන්නට කලින් මිනිස්සු ඒ අවට රොක් වූහ.

''අලි කොතරම කාර්ය ශූර මිනිසෙක්ද?'' අයෙක් කීහ.

''අලි ත්‍යාගශීලී යහපත් මිනිසෙකු වන නිසා අල්ලාහ් ඔහුට ත්‍යාගශීලී වී යහපත් දේ ලබාදී ඇත.''

''අලීත් ඔහුගේ පරම්පරාවේ අයත් සදාකාලිකව පොහොසත් වී ඇත'' යයි සමහරෙක් කීවෝය.

සමහරෙක් හස්රත් අලීට සුභ පැතූ අතර සමහරු ඔහුට ඊර්ෂ්‍යා කළහ.

''කඩදාසියක් හා පෑනක් ගෙනෙන්න'' අලී තුමා කීවේය. යමෙක් කොළයක් හා පෑනක් ගෙනා විට ඔහු මෙසේ සටහන් කළේය.

''මේ ළිඳත් ඒ අවට බිමත් පුණ්‍ය කටයුතු වෙනුවෙන් මම කැප කරමි. එහි ආදායම පහත අයුරින් පාවිච්චි කළ යුතු වෙයි.''

අ. දුප්පතුන් සහ අසරණයින්ට උපකාරී වීමට

ආ. තම නිවෙස් වලින් බැහැරව සිටින සංචාරකයන්ට උපකාරී වීමට



ඇ. අනාථයින්ගේ විවාහය සඳහා අවශ්‍ය කටයුතු සළසා දීමට

ඈ. දුප්පතුන්ට වෛද්‍ය ප්‍රතිකාර සපයාලීමට

ඉ. පොදු සුබසෙත සඳහා වන යහපත් කටයුතු සඳහා

මා මේ ළිඳ පුණ්‍ය කටයුතු සඳහා කැප කළේ එමගින් අල්ලාහ් සතුටු කිරීමටත්, මරණින් මතු ලොවේදී යහපත් දෑ ලැබීමටත්, අපායේ ගින්නෙන් වැළකීමටත්ය.

අත්සන් කළේ අලී ඉබ්නු අබී තාලිබ්

**ප්‍රශ්න සහ අභ්‍යාස**

1. ළිඳෙන් ලබන ආදායම කෙසේ වැය කළ යුතු යැයි හස්රත් අලී තුමා අදහස් කළේද?

2. පොදු සුබසෙත පිණිස වන යහපත් කටයුතු කොපමණ වේද?

3. ඔබේ මිතුරන් ගේ සුභ සෙත පිණිස ඔබට කළ හැකි කටයුතු කොපමණ වේද?

4. හස්රත් අලී තුමා ළිඳ පුණ්‍ය කටයුතු සඳහා කැප කළේ ඇයි?

5. අපායේ ගින්නෙන් වැළකීමට ඔබ යෙදෙන කටයුතු මොනවාද?

6. මෙම කතාවෙන් උගත යුතු පාඩම ඔබේ මිතුරන්ට කියා දෙන්න.



දහ සය වැනි පාඩම

# අකරුණාවන්ත සතුරා

ඉමාම් හසන් තුමා නිවසට පැමිණියා පමණි. ඔහු වෙහෙසට පත්ව සිටි නිසා මඳක් විවේක ගන්නට අදහස් කළේය. එවිටම කිසිවෙකු දෙරට තට්ටු කරන හඬ ඇසුණි. අවසර ඉල්ලා ගත් අමුත්තා ගෙට ඇතුළු විය. ඉමාම් වරයාට සලාම් යයි සුභපතා ඔහු පසෙකින් වාඩි වුණේය.

ඉමාම් හසන් ද පෙරළා සලාම් යයි සුභපතා ඔහුට ඉතා ගෞරවයෙන් කතා කොට සුවදුක් විමසුවේය.

මිනිසා නිහඬව නිසසලව බලා සිටියේය. ඔහුගේ සිතේ යම් ගැටළුවක් තිබුණ ද ලැජ්ජාව නිසා එය හෙළි කර ගත නොහැකිවූ සෙයකි. ඔහුගේ මුහුණ දෙස බැලූ ඉමාම් වරයා එය වටහා ගත්තේය. මිනිසා සිය දුක් කරදර හෙළිදරව් කරන තෙක් ඔහු නොඉවසිලිමත්ව බලා සිටියේය.

මිනිසා දිගු සුසුමක් හෙලුවේය. ''අහෝ නබිතුමන්ගේ පුත්‍රයාණෙනි!'' ඔහු ඊළඟට කටහඬ අවදි කළේය. ''මා ඔබ වෙත ආවේ සතුරෙකුගෙන් රැකවරණය පතා ගෙනයි. මේ සතුරා නපුරු, භයානක, අකරුණාවන්ත සතුරෙකි. වැඩි හිටියන්ට ගෞරව නොකරන එමෙන්ම බාලයින්ට කරුණාබර නොවෙන අයෙකි. මේ ප්‍රබල නපුරු සතුරා මගේ ජීවිතය අඳුරු කළේය. මාගේ ජීවිතය අඳුරුය. අසරණය. අහෝ! නබිතුමන්ගේ පුත්‍රයාණෙනි! මා කියනා දැය අසා මා බේරා ගනු මැනව.''

ඉමාම් හසන් තුමා මිනිසාට ඉතා සමීප වී ඔහු කියන දෙයට සවන් දී සිටියේය. මඳක් ඉදිරියට නැමී ඔහු මෙසේ කීවේය.

''ඔබගේ සතුරා කවුද? ඔහු කවරෙකු වුවත් මම ඔබට උපකාර

කරන්නෙමි. මම මුස්ලිම්වරයෙක් වෙමි. මුස්ලිම්වරුන් පීඩාවට පත් ස්වකීය සොහොයුරන් රැක ගෙන ඔවුනට ඔවුන්ගේ අයිතිවාසිකම් ලබා දිය යුතුය. ඔබේ සතුරා කවරෙක් දැයි මට කියන්න.''

''මගේ සතුරා....'' මිනිසා කීවේය. ඔහු බොහෝ ලැජ්ජාවට පත්ව සිටි බව මුහුණේ වූ රත් පැහැයෙන් කිව හැකි විය.

''..........දුප්පත්කම මගේ සතුරාය. වැඩිහිටියන්ට ගෞරව නොකරන, බාලයින්ට කරුණාබර නොවන සතුරා එයයි. අහෝ ! නබිතුමන්ගේ පුත්‍රයාණෙනි, මම අලස මිනිහෙක් නොවෙමි. මම වෙහෙස වී වැඩ කරන්නෙමි. නමුත් මට මාගේ වියදම් පියවා ගත නොහැක. ගැටළු නිසා මම මනස්තාපයට පත්ව ඇත්තෙමි. මා අත කිසිම මුදලක් නැත. මම ණය ගැතියෙක් ද වෙමි. ඔබ වැදගත් ත්‍යාගශීලී පවුලකින් පැවත එන්නෙක්ය. මා මෙ තත්ත්වයෙන් මුදවා ගන්නට ඔබට හැකිද?'' ආගන්තුක මිනිසාගේ ගැටළු අසා සිටීමෙන් ඉමාම් හසන් ඉමහත් කණගාටුවට පත් විය. ඊළඟට ඔහු සේවකයෙකු අමතා, ''නිවෙස තුළ තිබෙන සියළුම මුදල් මා වෙතට ගෙනෙන්න'' යි අණ කළේය.

සේවකයා විශාල පසුම්බියක තිබුණ සියළුම රත්රන් කැබලි පුරවා ගෙන එය ඉමාම් හසන් වෙත ගෙනාවේය. ඉමාම් වරයා එය ආගන්තුක මිනිසාට දී, ඔහුගේ සිත් සතුටු කරන්නට තමන් කෙරෙහි තවත් මුදල් නොමැතිවීම ගැන කණගාටුව පළ කළේය. ඊළඟට ඔහු මෙසේ කීවේය.''මෙ මුදල් වලින් ඔබේ ණය ගෙවා දමා ප්‍රශ්න විසඳ ගන්න. එවිට ඔබට පැහැදිලි හදවතකින් හා මනසකින් යුතුව යමක් උපයා ගත හැකියි. වෙහෙසවී වැඩ කිරීමෙන් ඔබට ස්වාධීන විය හැකි යයි මම සිතමි. නමුත් සතුරා යළි පහර දුනහොත් මෙහි පැමිණ මට එය දැන්විය යුතුය. වෙහෙසවී වැඩ කරන ඔබ වැනි මිනිසුන්ගේ දුප්පත්කමට හේතුව ඔවුන්ගේ අයිතිවාසිකම් ඔවුනට නිසි ලෙස ලබාදී නොමැතිවීමයි.''

මුස්ලිම්වරුන් වන අපි දුප්පත් අසරණ අයට උපකාර කිරීමටත්, ඔවුන්ගේ පැගුණ අයිතිවාසිකම් ලබාදීමටත් බැඳී සිටිමු. සාධාරණය හා සමානාත්මතාවය තහවුරු කරන්නටත් ඒ තුළින් දුප්පත්කම මකා

දමන්නටත් අපි කටයුතු කළ යුතු වෙමු.

**කල්පනා කර බලා පිළිතුරු සපයන්න.**

1. මිනිසාගේ සතුරා කවරෙක් වීද?
2. ඔහු එය තමන්ගේ සතුරා වශයෙන් හැඳින්වූයේ ඇයි?
3. එය ළමයින්ට කරුණාවන්ත නොවන්නේය යන්නෙන් ඔහු අදහස් කළේ කුමක්ද?
4. ඉමාම් හසන් ගේ පිළිතුරු කුමක් වීද?
5. මිනිසාගේ තත්ත්වය ඇසීමෙන් ඉමාම් හසන් කැළඹුණේ ඇයි?
6. ඔහු සේවකයාට කීවේ කුමක් කීවේද?
7. මිනිසාට මුදල් දීමෙන් පසු ඉමාම් හසන් සමාව ඉල්ලුවේ ඇයි?
8. මිනිසාට මුදල් දීමෙන් පසු ඔහු කුමක් කීවේද?
9. දුප්පත්කමට මුල්වන හේතුව කුමක්ද?
10. මිනිසුන් අතර සාධාරණය හා සමානාත්මතාවය ඇති කරන්නට අපි කුමක් කළ යුතු වෙයිද?
11. කරදරයට පත් අයට ඔබ උදව් කරන්නෙහිද?
12. අනාගතයේදී මේ අරමුණින් යෙදිය යුතු වැඩ පිළිවෙළක් ඔබ ළඟ තිබේද?

## දහ හත් වැනි පාඩම

# ත්‍යාගශීලී බව

නබිතුමාණන්ගේ හිටපු සගයින් අතුරින් අයෙක් බරපතල ලෙස රෝගාතුර වුණි. ඉමාම් හුසෙයින් තුමා ඔහු බලන්නට ගියේය. රෝගී මිනිසා දැඩි අසහනයකින් පෙළෙන බව ඔහුට පෙණුනි. හෙතෙම සුසුම් ලමින් හා ගොරවමින් සිටියේය.

ඉමාම් හුසෙයින් තුමා දැඩි කැළඹීමකට පත් වුණි. ඔහු රෝගී මිනිසා ඇමතුවේය. ''ඔබ ඔය තරම් පීඩාවකින් පසු වන්නේ ඇයි දැයි මට කියන්න. එවිට මට කළ හැකි යමක් ඔබ වෙනුවෙන් කළ හැකිය.''

''මම ණය ගැතියෙක්ව සිටිමි'' රෝගී මිනිසා කීවේය. ''මගේ ණය ගෙවා දමන්නට කිසි දෙයක් මට නැත. මා ණය ගැතියෙකුව මරණයට පත්වේ දැයි මට සැකය.''

'' ආදරණීය සහෝදරයා'' , හුසෙයින් ඔහුට කීවේය. ''සිත කලබල කර නොගන්න. ඔබේ සියලු ණය වෙනුවෙන් මම ඇප වෙන්නම්.''

''අහෝ!'' රෝගී මිනිසා කීවේය.

''ණය ගැතියෙකුව මිය යන්නට මම නොකැමැත්තෙමි. ඔබ මගේ ණය ගෙවා දමන්නට කළින් මා මිය යා දෝ යයි මට සැකයි.''

''කලකිරෙන්නට එපා'' ඉමාම් හුසෙයින් ඔහුට පිළිතුරු දුනි.

''ඔබ මිය යන්නට කලින් ඔබේ සියලු ණය බරින් ඔබව මුදා ගත හැකි බව මට විශ්වාසයි.''

ඔහුගෙන් සමුගෙන ගිය ඉමාම් හුසෙයින් මුදල් ද රැගෙන ගොස් මිනිසාගේ ණය සියල්ල ගෙවා දැමුවේය. ඉන් පසුව ඔහු යළිත් අර මිනිසා වෙත ගොස් ඒ ගැන දැන්වූයේය.

රෝගී මිනිසා බොහෝ සතුටට පත්විය. අල්ලාහ් ද මේ කරුණාවන්ත බව හා ත්‍යාගශීලි බව ගැන බෙහෙවින් පැහැදුනි. අපගේ නබිතුමාණන් අපට කියන්නේ:

''විශ්වාසවන්තයෙකු සතුටු කරන ඕනෑම අයෙක් මා සතුටු කළේ වෙයි. මා සතුටු කරවන ඕනෑම අයෙක් අල්ලාහ් සතුටු කළේ වෙයි..''



**කල්පනා කර බලා පිළිතුරු සපයන්න.**

1. ඔබේ මිතුරෙකු රෝගී වූ විට ඔබ ඔහු බලන්නට යන්නෙහිද?
2. රෝගී මිනිසාගෙන් ඉමාම් හුසෙයින් කුමක් ඇසුවේද?
3. ඉමාම් හුසෙයින් මිනිසාගේ කළකිරුණු සිත සුවපත් කළේ කෙසේද?.
4. ඔබ කිසිවෙකුට ණය ගැතිද? එය හැකි ඉක්මනින් ගෙවා දැමිය යුතු බව ඔබ නොසිතන්නෙහිද?
5. ඔබ අද මිනිසෙකු සතුටට පත් කළෙහිද?
6. විශ්වාසවන්තයෙකු සතුටු කිරීම ගැන අපගේ ශුද්ධවූ නබිතුමා අපට කුමක් කියා ඇද්ද?



දහ අට වැනි පාඩම

# අල්ලාහ් ගේ පිහිට අයැදීම

එක්තරා කතන්දරකරුවෙක් මෙසේ සිය මතකය අවදි කළේය.

''එක් රැයෙක මක්කාවේ ශුද්ධවූ කෑබාව වටා තවාෆ් කරමින් සිටියෙමි. කෑබාවේ ආවරණය අතින් අල්ලා ගෙන හඬමින් සිටි මිනිසෙක් මට දකින්නට ලැබුණි. ඔහු මෙසේ කියමින් අල්ලාහ් ගේ පිහිට අයදිමින් සිටියේය.

''අහෝ! විශ්වයේ සමිඳාණෙනි! ලොව සියළු මිනිසුන්ගේ දෑස නින්දෙන් පියවී ඇත. ඉර බැස ගොසිනි. අහසේ තරු පායා ඇත. නමුත් අහෝ! විශ්වයේ පාලකයාණෙනි ඔබ සැම විටම අවදියෙන්, සජීවී තත්ත්වයෙන් රැඳී සිටින්නෙහිය. ලෝකයත් ලෝක වාසීනුත් ඔබ විසින් පාලනය කරනු ලබන්නේය.''

''අහෝ සියළු ජීවීන්ගේ සමිඳාණෙනි, පාලකයින් ඔවුන්ගේ දොරවල් තරයේ වසාගෙන ය. ඒවාට ඔවුන් මුරකාවල් යොදා ඇත. නමුත් ඔබගේ වාසස්ථානය වන නිවහන සැම විටකම සියල්ලන්ටම විවෘතය. එලෙසින්ම ඔබ දුකට පත්වූවන්ට සහනය ගෙන දෙන්නටත්, රෝගී වූවන් නිරෝගී කරන්නටත් පීඩිතයන්ට උපකාර කරන්නටත් සියලු වේලාවන්හිම සැදී පැහැදී සිටින්නේය.

''අහෝ! කරුණාබර වූ අල්ලාහ් දෙවියෙනි, මවන ලද්දවුන්ගේ ආදර වන්තයාණෙනි, මේ අසරණ මිනිසා මේ අඳුරු රැයේදී ඔබගේ නිවහනට

පැමිණ සිටින්නේය. සමහර විට ඔබ ඔහුට අනුග්‍රහය දක්වනු ඇත.''

දෙවියෙනි, අඳුරු රැයේ ඔබට හඬ ගසන අසරණයාගේ ඉල්ලීමට ඔබ පිළිතුරු දෙන්නෙහිය.

''අල්ලාහ් දෙවියෙනි, ඔබ දුකට පත්වූවන් ඔවුන්ගේ අපහසුතාවයන් ගෙන් ගලවා ගන්නෙහිය.''

''දෙවියෙනි, වේදනාවෙන් පෙළෙන අය ඔබ සුවපත් කරන්නෙහිය.''

''අහෝ සමිඳුණෙනි, ඔබගේ අමුත්තෝ ඔබගේ නිවහන වටා නින්දට වී සිටිති. ඔබ පමණක් නොනිඳ සිටින්නෙහිය. ලෝකයත් ලෝවාසීනුත් පාලනය කරන තැනැත්තා ඔබ වන්නෙහිය.''

''අහෝ සමිඳුණෙනි, මේ අඳුරු රැයේදී මම ඔබේ නිවහනට පැමිණ සිටිමි. මම ඔබ වෙතට එන්නෙමි. ඔබ වෙතට එන්නැයි ඔබ අපට පවසා ඇත්තෙහිය.''

''අහෝ අල්ලාහ් දෙවියෙනි, මේ ශුද්ධවූ නිවහන අසලට වී මම ඔබට ආයාචනා කරමි. ඔබේ සේවකයා කෙරෙහි දයාව දක්වනු මැනවි. ඔබ විසින් මවන ලද්දන් ඔබ වෙත ඇවිත් ඔවුන්ගේ බලාපොරොත්තු ඔබට නොපවරන්නේ නම් ඔවුන් යන්නේ කාගේ නිවසටද? ඔවුන්ගේ බලාපොරොත්තු පවරන්නේ කාටද?''

එම තරුණ මිනිසා අල්ලාහ් දෙවියන්ට ආයාචනා කරනු ඇසීමෙන් ද අල්ලාහ් කෙරෙහි වූ ඔහුගේ භක්තිය ඇසින් දැක ගැනීමෙන් ද මම බොහෝ සතුටට පත්වීමි.

මම ඒ තරුණයා හඳුනාගනු වස් ඔහුට ළං වූයෙමි. ඒ ඉමාම් සෙයිනුල් ආබිදීන් බව මම දැක ගත්තෙමි. ඒ ආකාරයෙන් අල්ලාහ් ගේ පිහිට අයැදිය හැක්කේ ඔහුටම පමණක් බව ද මම පසක් කර ගත්තෙමි.

### අභ්‍යාසය

1. පැහැදිලි උච්ච ස්වරයකින් මේ පාඩම කියවන්න.
2. පාඩමෙන් වාක්‍ය 10ක් තෝරා ගෙන ඉතා ලස්සණ අත් අකුරින් ඒවා පිටපත් කරන්න.



දහනව වැනි පාඩම

# යාඥාව ඉටු කිරීම

යාඥාව වන්දනයට අදාල ශ්‍රේෂ්ඨතම ක්‍රියාවන්ගෙන් එකකි. යාඥාව අප අල්ලාහ්ට වඩාත් සමීප කරවන අතර එය මරණින් මතු ලොවට යහපත්ම ඉතුරුව වන්නේද වෙයි.

අප යාඥාව මනාව ඉටු කළොත් එය අපට මරණින් මතු ශාන්තියත් ආශීර්වාදයත් ගෙන දෙන්නේය.

ශුද්ධවූ මුහම්මද් නබිතුමාණන් අපට මෙසේ කියන්නෝය.''මම මෙලොවේදී යාඥාව ඉටු කිරීමට කැමැත්තෙමි. මගේ හදවතේ







උද්දමයත් දෙනෙතේ ආලෝකයත් එයමය.''

එමෙන්ම එතුමෝ අපට මෙසේ ද කියා ඇත. ''යාඥාව පැහැදිලි සිසිල් දිය දහරක් වැනිය. එයින් එය ඉටු කරන්නාට දිනකට පස් වරක් මැනවින් පිරිසිදු කරවන්නේය.''

යාඥාවේදී අපි අල්ලාහ්ට කතා කරන අතර අපේ සියලු අවධානය ඔහු කෙරෙහි යොමු කරමු. අල්ලාහ් ද ඔහුගේ නබිවරයා ද යාඥාව අතපසු කරන්නවුන්ට ආදරය කරන්නේ නැත.

ශුද්ධවූ නබිතුමාණෝ අපට මෙසේ පවසති.

''අනිවාර්ය යාඥාවන් ඉටු නොකරන්නා මට පිළිකුළකි.''

දෙවියන් වහන්සේ යාඥාව ඉටුකරන අයට ආදරය කරන අතර ඔවුන්ට උතුම්වූ තෑගි ලබාදෙයි. ළමා වියේ පටන් යාඥාව ඉටු කරන ළමයින්ට ඔහු විශේෂයෙන් ආදරය කරයි.

සෑම මුස්ලිම්වරයෙක්ම දිනකට පස් වරක් යාඥාව ඉටු කරයි.

අල් ෆජ්ර් යනුවෙන් හැඳින්වෙන උදෑසන යාඥාව රකාත් නොහොත් ඒකක දෙකකින් යුක්තය.

අල් ලුහ්ර් නම් මධ්‍යාහ්න යාඥාව රකාත් හතරකින් යුක්තය.

අල් අසර් නම් සවස් යාඥාව රකාත් හතරකින් යුක්තය.

අල් මග්රිබ් නම් ඉර බැස යන වේලාවේ යාඥාව රකාත් තුනකින් යුක්තය.

අල් ඉෂා නම් රාත්‍රී යාඥාව රකාත් හතරකින් යුක්තය.

## කල්පනා කර බලා පිළිතුරු සපයන්න.

1. නබි මුහම්මද් තුමාණෝ යාඥව ගැන පවසා ඇත්තේ කුමක්ද?

2. මරණීන් මතු ශාන්තිය ලබන්නට අපි කුමක් කළ යුතු වෙමුද?

3. මුස්ලිම්වරයෙකු දිනපතා යාඥ කීයක් ඉටු කරන්නේද?

4. යාඥව අතපසු කරන්නවුන් ගැන ශුද්ධවූ නබි තුමාණෝ කුමක් පවසන්ද?

5. අල්ලාහ් බොහෝ ආදරය කරන්නේ කුමන ආකාරයේ දරුවන්ට ද?

6. ඔබ අල්ලාහ් බෙහෙවින් ආදරය කරන දරුවන් අතුරින් කෙනෙක්ද?

* යාඥව ඉටු කරන්නට කළින් අපි ''වූලූ'' නමින් හැඳින්වෙන පිරිසිදුවීම ලබා ගත යුතුය. ඔබේ පියා ඉදිරිපිට ''වූලූ'' පිරිසිදුවීම ඉටුකර එය ඔබ නිසි ලෙස ඉටු කළෙහි දැයි ඔහුගෙන් අසා දැන ගන්න.



# අපි යාඥාව ඉටුකරන්නේ කෙසේද?

අපි යාඥාව ඉටු කරන්නේ පහත දැක්වෙන ආකාරයෙන්ය.

1. මක්කාවේ පිහිටි කඃබාව නොහොත් ''කිබ්ලා'' හි දිසාවට මුහුණ දී අපේ අභිප්‍රාය නොහොත්''නියයතය'' අධිෂ්ඨාන කරගනිමු. එයින් අදහස් කරන්නේ අල්ලාහ් වෙනුවෙන් යාඥාව ඉටුකිරීමට අප සාවධානව හා දැනුවත්ව අධිෂ්ඨාන කර ගන්නා බවයි. උදාහරණයක් හැටියට ''අල්ලාහ් වෙනුවෙන් අපි මධ්‍යාහ්නයේ රකාත් හතරකින් යුත් ලුහ්ර් යාඥාව ඉටු කරන්නට අධිෂ්ඨාන කරමු.''

2. මෙම අධිෂ්ඨානයෙන් පසුව අපි අපේ දෑත් අත්ල ඉදිරිපසට යොමුවන පරිදි තබාගෙන කණේ මට්ටමට ඔසවා ''අල්ලාහු අක්බර්'' යන ප්‍රකාශය හඬ නඟමු.

3. තක්බීර් නමින් හැඳින්වෙන මෙම ප්‍රකාශයෙන් පසුව අල්හම්දු සූරාව පාරායණය කරමු. එය මෙසේය:

බිස්මිල්ලාහිර් රහ්මානිර් රහීම්

අල්හම්දු ලිල්ලාහි රබ්බිල් ආලමීන්

අර් රහ්මානිර් රහීම්

මාලිකි යවුමිද් දීන්

ඉය්යාක නඃබුදු ව ඉය්යාක නස්තඊන්

ඉහ්දිනස් සිරාතල් මුස්තකීම්

සිරාතල් ලදීන අන් අම්ත ' අලෙයිහිම්

ගහයිරිල් මහ්ලූබි අලෙයිහිම් වලද් ලාල්ලීන්



අල්හම්දු සූරාව පාරායණයෙන් පසුව අපි කුර්ආනයේ තවත් සම්පූර්ණ සූරාවක් පාරායණය කරමු.

උදා. අල් ඉඛ්ලාස් සූරාව

බිස්මිල්ලාහිර් රහ්මානිර් රහීම්

කුල් හුව ල්ලාහු අහද්

අල්ලාහුස් සමද්

ලම් යලිද් වලම් යූලද්

වලම් යකුන් ලහූ කුෆුවන් අහද්

4. ඊළඟට අපි ''රුකූඃ'' ඉරියව්වට එනම අල්ලාහ් ඉදිරියේ හිස

නමා ආචාර කිරීමට එළඹෙමු. මෙහිදී අපි අපේ දෙඅත්ල දණහිස් මත තැබිය හැකි තරමට ඉදිරියට කඳ නවමු. මෙම ඉරියව්වේදී අපි පාරායණය කරන්නේ,

සුබ්හාන රබ්බියල් අළීම් වබිහම්දිහි යනුවෙනි.



ඊළඟට අපි ඍජුව නැගී සිටිමින්

සමි අල්ලාහු ලිමන් හමිදහ් යයි පාරායණය කරමු.

5. දැන් අපි ''සුජුද්'' ඉරියව්වට එළඹෙමු.

මෙය අපේ නළලත, දෙඅත්ල, දෙදණ සහ පාවල මහපටැඟිලි වල

අගිස්ස පොළව හා ස්පර්ශ වන ඉරියව්වකි. මෙම ඉරියව්වේදී අප පාරායණය කරන්නේ සුබ්හාන රබ්බියල් අඃලා වබිහම්දිහි යනුවෙනි.

ඊළඟට අපි ඒ නමස්කාරයෙන් මිදී හිස ඔසවා හිඳී ඉරියව්වෙන් ටික වේලාවක් සිටිමු. ඊට පසු කලින් යෙදුණ නමස්කාර ඉරියව්වට පත්වී දෙවැනි නමස්කාරයෙහි යෙදෙමු.

6. දෙවැනි නමස්කාර ඉරියව්ව නිමවූ විට අපි යළිත් නැඟිට සිටින්නේ දෙවැනි ඒකකය (රකාඅතය) අරඹන්නටය.

ඊළඟට අපි අල් හම්දු සූරාව පාරායණය කර මුල් ඒකකයේ පරිද්දෙන්ම නවත් සූරාවක් පාරායණය කරමු.

ඊළඟට අපි රුකූඃ සහ සුජූද් ඉරියව්වෙහි යෙදෙමු. එය මුල් රකාඅතය පරිදිමයි.





මෙම නමස්කාර දෙක අවසානයේ අපි නිසල හිඳී ඉරියව්වෙන් සිටිමින් තෂහ්හුද් ප්‍රකාශය පාරායණය කරමු. එනම් අෂ්හදු අන්ලා ඉලාහ ඉල්ලල්ලාහු වහ්දහු ලා ෂරීක ලහු ව අෂ්හදු අන්න මුහම්මදන් අබ්දුහු ව රසූලුහු අල්ලාහුම්ම සල්ලි අලා මුහම්මදින් ව ආලි මුහම්මද්

8. මෙම තෂහ්හුද් ප්‍රකාශය පාරායණයෙන් පසු අපි නැගිට තුන්වැනි රකාඅතය අරඹමු. තුන්වැනි රකාඅතයේදී අපි අල්හම්දු සූරාව පමණක් පාරායණය කළ යුතු අතර අන් සූරාවන් පාරායණය නොකරමු.

ඊළඟට අපි රුකූඃ හා සුජූද් ඉරියව්වෙහි හිඳිනුයේ මුල් රකාඅත වලදී පරිදිමයි. ඊළඟට අපි හතරවැනි රකාඅතයට නැඟී සිට තුන්වැනි රකාඅතයේ පරිද්දෙන්ම එය ඉටු කරමු.

9. හතරවැනි ඒකකයේ සුජූද් පිහිටුවා කරන නමස්කාර අවස්ථා දෙකින් පසු මදක් වාඩිවී දෙවැනි ඉරියව්වෙහි පරිදි ''තෂහ්හුද්' ප්‍රකාශය පාරායණය කරමු.

ඊළඟට අපි සලාම් දෙමු.

අස්සලාමු අලෙයිකුම් වරහ්මතුල්ලාහි වබරකාතුහු

මෙයින් අපේ යාඥාව අවසන් වේ.



## සටහන්

1. සෑම යාඥාවක් ආරම්භයේදීම එහි ඒකක (රකාඅත්) ගණන සඳහන් කරමින්ද, අල්ලාහ් වෙනුවෙන් යැයි සඳහන් කරමින් ද නියියත් (අධිෂ්ඨානය) තැබිය යුතුය.

2. ඉර බැස යන විට කරන යාඥාව (අල් මග්රිබ්) ඒකක තුනකින් යුක්තය. ඉතින් අල් මග්රිබ් යාඥාවේ ඒකක තුනක් කරන්නට නියියත් තබා ගනිමු. දෙවැනි තෂහ්හුද් ප්‍රකාශය කොට සලාම් දෙන්නේ තුන්වැනි ඒකකය අගදී වන අතර එයින් යාඥාව අවසන් වේ.

3. උදෑසන යාඥාව (අල් ෆජ්ර්) ඒකක දෙකකින් යුක්තය. එනයින් අපි ඒකක දෙකකට නියියත් තබා ගනිමු. යාඥාවේදී සලාම් දෙන්නේ දෙවැනි ඒකකයේ ''තෂහ්හුද්'' ප්‍රකාශයට පසුවය. එවිට යාඥාව අවසන්වේ.

4. උදෑසන යාඥාව සඳහා වන කාලය හිමිදිරියේ පළමු ආලෝකයේ තැන් පටන් ඉර උදාවන තුරුය.

5. මධ්‍යහ්නයේ සහ මධ්‍යහ්නයට පෙර පසු යාඥා හරි පිළිවෙළට ඉටු කළ යුතු අතර එය මධ්‍යහ්නයේ සිට ඉර බැස යනතුරු ඉටු කළ හැකිය.

6. ඉර බැස ගියපසු සහ සැන්දෑ යාඥා හරි පිළිවෙළට ඉටු කළ යුතු අතර එය ඉර බැසයෑම ඇරඹුණ තැන් පටන් මධ්‍යම රාත්‍රිය දක්වා ඉටු කළ හැකිය.

### ප්‍රශ්න සහ අභ්‍යාස

1. අල් හම්දු සූරාව සහ තවත් සූරාවක් මතකයෙන් කියවන්න.
2. යාඥාවේ ''රුකූඃ'' අවස්ථාවේදී අපි කුමක් කියමුද?
3. යා ඥාවේ සුජූද් පිහිටුවා නමස්කාර කිරීමේදී අපි කුමක් කියමුද?
4. ''තෂහ්හුද්'' අවස්ථාවේ කියන ප්‍රකාශය කුමක්ද?
5. යාඥාවේදී සලාම් දෙන හැටි කියන්න.

විසිඑක් වැනි පාඩම

# පිරිසිදුව සිටීම

කුණු කැබලි අපේ ශරීර සෞඛ්‍යයට අහිතකර බව අපි දන්නා අතර අපි ඒවා ගැන පරීක්ෂාකාරී විය යුතු වෙමු.

උදහරණයක් වශයෙන් මනුෂ්‍ය මළ මූත්‍රා අපවිත්‍රය. ඉස්ලාම් ආගම එය හඳුන්වන්නේ නජිස් යනුවෙනි. එහි අරුත අපවිත්‍ර දැයක් යනුය.

ඉස්ලාමය අපට මෙසේ කියයි.

මේවා අපේ සිරුර හෝ ඇඳුම් අපවිත්‍ර කරන්නේ නම් අපි ජලය යොද ගෙන සිරුර හා ඇඳුම් සෝදගෙන පිරිසිදු කරගත යුතුය.

යාඥවෙහි යෙදෙන්නට බලාපොරොත්තු වන අයෙකුගේ ඇඳුම හා සිරුර සම්පූර්ණ වශයෙන් පවිත්‍රව තිබිය යුතුය.

''අපවිත්‍ර ආහාර අනුභවය තහනම් හා පාපකාරී දැයකි.''

අප වැසිකිළියට යන සෑම විටකම වාඩිගත යුත්තේ මූත්‍රා බිංදු අපේ ඇදුම් වල නොවදින අයුරිනි. මන්ද ඉතා කුඩා මූත්‍රා බිඳුවක් වුව ඇඳුම් අපවිත්‍ර කරන බැවිනි.

අපේ ගුද විවරය ද පිරිසිදු විය යුතුය. මෙය අප කරන්නේ ජලය යොද ගනිමිනි. ( දකුණු අතින් ජලය වත් කරමින් වමතින් දෝවනය කර ගත යුතුය.)

වැසිකිළියෙන් පිටතට ආ පසු අපේ දෑත සබන් හා ජලය යොද ගෙන පිරිසිදු කර ගත යුතුය.

කිබ්ලාව දෙසට මුහුණලා ගෙන හෝ කිබ්ලාවට පිටුපා මූත්‍රා හෝ මළ පහ කිරීම තහනම් හා පාපකාරී දැයකි.

මුත්‍රා කිරීම සඳහා වාඩි ගත යුතුය. සිට ගෙන එසේ කිරීම හොඳ නැත. අපේ ශුද්ධවූ නබිතුමාණෝ මෙසේ පවසා ඇත.

''සිටගෙන මූත්‍රා පහ නොකරන්න.''

එමෙන්ම මේ ස්වාභාවික අවශ්‍යතාවයන් ගං හෝ දිය පහර වල් අසළ ඉටු කිරීමත්, පළතුරු ගස් යට හා වීදි මංමාවත් වල ඉටුකිරීමත් නොකළ යුතුය.

ඉස්ලාම් ආගම පිරිසිදු එකකි. එය අපට මෙසේ කියයි.

''පිරිසිදුකම ආගමේ කොටසකි.''

තරුණ මුස්ලිම්වරයෙක් සිය සිරුර හා ඇඳුම් පිරිසිදුව තබා ගැනීමට දැඩි මහන්සියක් දරන අතර ඔහු සෑම විටෙකම පිරිසිදුව සිටින්නේය.



## විසි දෙවැනි පාඩම

# උපවාසය

### ශ්‍රේෂ්ඨ වන්දනා ක්‍රියාවක්

රමසාන් මාසය විශේෂ මාසයකි. එය වන්දනය, යාඥාව සහ උපවාසය පිළිබඳ මාසයක්ය; පරාර්ථය අනුකම්පාව සහ ආත්ම පරිත්‍යාගය පිළිබඳ මාසයක්ය.

රමසාන් මාසයේ සෑම දිනකම ඉර උදාවට පළමු කාලය (සහ්ර්) ඉතා වැදගත්ය. මුස්ලිම්වරුන් රමසාන් මාසය තුළ ''සහර්'' සඳහා නැඟිට යාඥාවන් ඉටු කරති. ඔබ සමහර විට රමසාන් මාසයේදී ''සහර්'' කාලයට දෙමාපියන් ඇඳෙන් නැඟිට ''වුළු'' දෝවනය කර යාඥා කරමින්, බැගෑපත්ව ප්‍රාර්ථනා කරමින් අල්ලාහ් ගේ පිහිට අයදිනු දැක ඇති. ඔවුහු ඊළඟට විශේෂ සහර් භෝජනය ගෙන ඊළඟ දවසේ හිර බැස යන තුරු උපවාස කරන්නට අධිෂ්ඨාන කර ගනිති.

හොඳ ළමයිද රමසාන් මාසයේ සහර් කාලයට කැමතිය. ඔවුහු නින්දෙන් නැඟිට ''සහර් වතාවත්'' සිය දෙමාපියන් සමඟ එක්ව ඉටුකරති. එමෙන්ම ඔවුහු මධ්‍යාහ්නය වනතුරු හෝ නමන්ට හැකිනාක් වේලා යළි ආහාර ගැනීමෙන් වළකිති. මේ අයුරින් ඔවුහු උපවාසයේ ආශිර්වාදයන් හා තිළිණයන් වැඩිහිටියන් සමඟ එකට භුක්ති විඳින්නෝය.

ඉර බැස යෑමෙන් පසු උපවාසය අවසන් කරන ආහාරය නොහොත් ''ඉෆ්තාර්'' සඳහා අමුත්තෙකු කැඳවීම මුස්ලිම්වරුන්ගේ යහපත්ම ක්‍රියාවන්ගෙන් එකකි. ''ඉෆ්තාර්'' වේලාවට අමුත්තෙකු කැඳවා ඔහුට ආහාර සපයන ඕනෑම කෙනෙකුට අල්ලාහ් ආශිර්වාදන් තුටු පඬුරුන් ලබාදෙයි.

## ප්‍රශ්න

1. රමසාන් මාසයේ විශේෂත්වය කුමක්ද?
2. මෙම මාසයේදී කෙරෙන වතාවත් මොනවාද?
3. රමසාන් මාසයේ සහර් කාලයට මුස්ලිම්වරුන් කරන්නේ මොනවාද?
4. ළමයින් උපවාසයේ ආශීර්වාදයන් හා තිළිණ භුක්ති විඳින්නේ කෙසේද?
5. ඉෆ්තාර් කාලයට අප කරන යහපත් ක්‍රියාවන් අතුරින් එකක් ලියන්න.
6. ආහාර ගැනීමෙන් වැළකිය යුත්තේ කුමන අවස්ථාවලදීද?
7. මුස්ලිම්වරුන් ඉෆ්තාර් සඳහා අමුත්තෙකු කැඳවන්නේ ඇයි?
8. රමසාන් මාසයේදී පුහුණු විය යුතු යහගුණාංග මොනවාද?
9. යහපත් ළමයින් වන ඔබලා උපවාසයේ යෙදෙන්නේද?

**පහත වාක්‍යය සම්පූර්ණ කරන්න.**

අ. රමසාන් මාසය වන්දනය, පරාර්ථය හා .......................... පිළිබඳ මාසයක්ය.

ආ. රමසාන් මාසයේ සහර් වේලාවන් ඉතා ................ ය.

ඇ. රමසාන් මාසයේදී මුස්ලිම්වරුන් සහර් වේලාවට අවදිවී යළි ඉර බැස යන තුරු.................................. කරන්නට අධිෂ්ඨාන කරගනිති.

ඈ. ..................... ළමයිද රමසාන් මාසයේ සහර් කාලයට කැමතිය.

ඉ. ඔවුනු සහර් කාලයේදී ආහාර ගෙන මධ්‍යහ්නය වන තුරු හෝ................ වෙලා යළි ................ හෝ පානය කිරීමෙන් වළකිති.

ඊ. උපවාසයේ යෙදුන අමුත්තෙකුට ඉෆ්තාර් වේලාවට ආහාර දෙන ඕනෑම අයෙක් අල්ලාහ් ගෙන් බොහෝ ...................... හා ...................... ලබයි.



### විසි තුන්වැනි පාඩම

# කාරුණික වදන - සලාම්

අපේ ශුද්ධවූ මුහම්මද් නබිතුමාණෝ සිය සගයන් සමඟ එකට වාඩිවී කතා බහ කරමින් සිටියෝය. එක්නරා පුද්ගලයෙක් ''සලාම්'' ද නොකියා එතැනට ඇතුළු වුණේය.

''ඔබ සලාම් නුදුන්නේ ඇයි?'' නබිතුමාණෝ ඇසුවෝය. ''ඔබ ඇතුළට එන්න අවසර නොගත්තේ ඇයි?''

''කරුණාකර ආපසු යන්න. මෙහි ඇතුළුවන්නට පෙර අපගෙන් අවසරය ලබාගෙන ''සලාම්'' යයි අපට සුභපතා පැමිණෙන්න.'' නබිතුමාණෝ ඔහුට උපදෙස් දුන්හ.

සලාම් සම්බන්ධයෙන් නබිතුමාණෝ අපට මෙසේ පවසා ඇත.

''මුස්ලිම්වරුනි, ඔබ එකිනෙකාට කරුණාවන්ත වන්නෙහි නම්, එකිනෙකා මුණගැසෙන විට උණුසුම් වදනින් සලාම් යයි කියන්නේ නම් ඔබලා ස්වර්ගයට ඇතුළුවන්නෙහුය.''

''සෑම විටෙකම උච්ච ස්වරයෙන් සලාම් කියන්න. ඊට පිළිතුරු දෙන විටද එසේ කරන්න.''

සලාම් යයි මුලින්ම කියන තැනැත්තාට දෙවියන් වහන්සේ බොහෝ ආදරේය. ඔහුගෙන් එම තැනැත්තා වඩා යහපත් තිළිණ හා ආශීර්වාද ලබන්නේය. මුලින් සලාම් දෙන්න. ඊළඟට ඔබට කිවයුතු කවර දෙයක් වුව කියන්න.

**ඔබ ඔහුගේ නම දන්නෙහිද?**

සමහර විට ඔහු ඔබේ මිතුරන්ගෙන් කෙනෙකු විය හැකිය. ඉස්ලාමීය සිරිත් විරිත් ඉගෙනගන්නට බොහෝ වෙහෙසෙන ඔහු ඒවා ප්‍රායෝගිකව ඉටුකරයි.

ඔහු අනුන්ට සිය සලාම් වදනින් උණුසුම් ලෙස මෙසේ සුභ පතයි.

''අස්සලාමු අලෛකුම්!''

එමෙන්ම තමන්ට සලාම් දෙන ඕනෑම අයෙකුට ඔහු සිනා මුහුණින් යුතුව ආපසු සලාම් දෙයි.

තමන්ගේ මිතුරෙකු දකින ඕනෑම විටෙක ඔහු සතුටට පත්ව සිනාමුසු මුහුනින් අතට අතදී සලාම් දෙමින් මිතුරාගේ සුවදුක් අසයි.

ඔහුගෙන් ඔහු ගැන විමසන ලද ඕනෑම විටෙක ඔහු ''අල් හම්දු ලිල්ලාහ්! මම සුවෙන් සිටිමි.'' යයි කියයි.

නිවසට ඇතුළු වන විට දෙමාපියන්ටත් එහි වෙසෙන සියල්ලන්ටත් සලාම්! යනුවෙන් සුභ පතන ඔහු නිවසින් පිටත් වන විට ''ඔබලාට දෙවියන් වහන්සේ ගේ පිහිටයි!'' කියා සුභපතයි.

තමන්ට කරුණාවන්ත ඕනෑම අයෙකුට ස්තූති කරන ඔහු තමන්ට හැකිනම් එම තැනැත්තාගේ කාරුණික බවට පෙරළා කාරුණික වන්නේය.

පිරිසක් වෙත යන සෑම විටෙකම පැහැදිලි හඬකින් සලාම් දෙන ඔහු සුදුසු තැනකින් වාඩි ගනියි.

කිසිවෙකු ඉදිරියේ නාසය තුළට ඇඟිලි එබීම, කෙළ ගැසීම හෝ දෙපා දිගු කිරීම ඔහු කිසිවිටෙක නොකරයි.

කිසිවෙකුගේ කතාවට බාධා නොකරන ඔහු කිසිවිටෙකත් පමණට වඩා කතා නොකරයි. හේතුවක් නැතිව කලබල නොවන ඔහු සෑම විටෙකම මිහිරි ලෙසත්, ආචාරශීලී ලෙසත් කතා කරයි.

කිවිසුමක් යන විට අත්ලෙන් නාසය හා මුව වසාගන්නා ඔහු එයින් පසු ''අල්හම්දුලිල්ලාහ්!'' යයි පවසයි.

ඔබ මෙ පිරිමි දරුවා හඳුනන්නෙහිද? ඔහුගේ නම දන්නෙහිද?

ඔහුගේ නම නාසිර්ය. ඔහුගේ හැසිරීම ඉතා හොඳය. එමෙන්ම ඒ ගැන අල්ලාහ් ඔහුට ආදරය කරන අතර ඒ වෙනුවෙන් පියකරු තිළිණයක් ද ලබාදෙනු ඇත.

යහපත් මිනිසුන්ද ඔහුට කැමති වන අතර ඔවුහු ඔහුට ගෞරව කරන්නෝය. ඔබත් ඔහුට කැමතිද?

ඒ ඇයි?

**කල්පනා කර බලා පිළිතුරු සපයන්න.**

1. අපගේ ශුද්ධවූ නබිතුමාණෝ එම මිනිසාට කුමක් කීවෝද? ඔහු වරදක් ද කර නොතිබුණි. ඇත්තෙන්ම ඔහු වරදක් කළේද?

2. අප එකිනෙකාට සලාම් දෙන්නේ කෙසේද? අප යමෙකුගේ සලාම් ලැබූ පසු ප්‍රතිචාර දක්වන්නේ කෙසේද?

3. ඔබගේ මිතුරන් අතරින් මුලින්ම සලාම් දෙන්නට බෙහෙවින් උත්සාහ ගන්නේ කවුද?

4. වෙනත් අයෙකුගේ කාමරයට ඇතුළු වන්නට ඕනෑවූ විට ඔබ කරන්නේ කුමක්ද?

5. අල්ලාහ් වැඩියෙන් ආදරය කරන්නේ මුලින්ම සලාම් දෙන තැනැත්තාටද? සුභ පතන ලද විට සලාම් යනුවෙන් ප්‍රතිචාර දක්වන තැනැත්තාටද?

## විසිහතර වැනි පාඩම

# දෙමාපියන් සමඟ හැසිරීම

එක් තරුණයෙක් වරක් ඉමාම් ජඃෆර් අල් සාදික්( අලෛහි ස්සලාම්) හමුවන්නට ගියේය.

''නබිතුමාණන්ගේ පුතණුවනි, මගේ පියා ඉතා මහලුය; දුර්වලය. ඔහුට කිසි වැඩක් කළ නොහැකිය. ඔහුට ඇවිදින්නටද බැරිය. වෙනෙකක් තබා ආහාර ගෙන මුවෙහි තබාගැනීමද ඔහුට බැරිය. ඔහු කරන සෑම දෙයකටම උපකාර වන්නට මට සිදුවී ඇත.'' ඔහු කියන්නට විය.

''ඔබට වාසනාව උදාවී ඇත.'' අල් ඉමාම් අල් සාදික් ඔහුට පැවසුවේය. 'ඔබ ඔබේ පියාට මේ තරම් සානුකම්පිතව සළකන බැවින් ඔබට දෙවියන් වහන්සේ ගේ ආශීර්වාදය ලැබේවි. ඔබට හැකිතරම් පියාගේ කටයුතු කර දෙන්න. ඔහුගේ රෙදි පිළි සෝද දෙන්න. ඔහුගේ මුහුණ අනපය පිරිසිදු කරන්න. ඔහුව ස්නානය කරන තැනට ගෙන යන්න. ඔහුට ඔබේ අතින් කවන්න. සෑම විටෙකම ඔහුට ගෞරවය ලබාදෙන්න. ඔබට විවේකයක් ඇති විටෙක ඔහු අසළ වාඩිවී ඔහුව සතුටට පත් කරන්න. ඔහු ඔබට කතා කරන විට හොඳින් ඇහුම් කන්දෙන්න. ඔහුගේ සිතට සහනය ලබාදෙන්න. ඔහුට නිගරු කිරීම දෙවියන් වහන්සේ විසින් තහනම් කරනු ලැබ ඇති දෙයකි. ඔහුට රළු වදනින් කතා කිරීමද එසේම වෙයි. ඔහු අසහනයටත්, අසතුටටත් පත් කරන දැයක් කිරීමද දෙවියන් විසින් තහනම් කරනු ලැබ ඇත.''

''ඔබ දරුවෙකුව සිටියදී ඔබ වෙනුවෙන් ඔහු නොයෙක් වේදනා වීඳ ඇත. ''අල් ඉමාම් සාදික් තවදුරටත් කීවේය. ''දැන් ඔහුට උපකාර කිරීමත්, සේවය කිරීමත් ඔබගේ යුතුකමයි.''

''අල්ලාහ්ට තුති පුදන්න.'' අල් ඉමාම් සාදික් ඔහුට කීවේය.

''ඔහු ඔබට ඔහුගේ පියාට උපකාර වීමට ශක්තිය ලබා දී ඇත. ඒ තුළින් ඔබට ශාන්තිය ළඟා වන්නේය. අල්ලාහ් මේ ආකාරයෙන් ඔබගේ පවුලට සමාව දෙනු ඇත. ඒ නිසා ඔබ නිරයේදඬුවමින් මිදෙන්නෙහිය. ඔහු ඔබට ස්වර්ගයේදී රමණීය තිළිණයක් ද ලබා දෙනු ඇත.''

තමන්ට පමණක් වන්දනා කරන ලෙසත්, දෙමාපියන්ට සෑම විටෙකම කරුණාවන්ත හා උපකාරශීලී වන ලෙසත් දෙවියන් අපට කියා ඇත.

**ප්‍රශ්න**

1. අල් ඉමාම් ජඃෆර් අල් සාදික් එම තරුණයා වාසනාවන්ත යයි කීවේ ඇයි?
2. ඉමාම් අල් සාදික් තරුණයාට කරන්නැයි කීවේ කුමක්ද?
3. දෙමාපියන්ට සැළකීම පිළිබඳ අල්ලාහ් අපට දී ඇති නියෝග මොනවාද?
4. ඔබ ඔබේ දෙමාපියන්ට උපකාර වන්නේ කෙසේද?

**අභ්‍යාස**

ඔබේ පවුලේ අයට ඇසෙන සේ මේ පාඩම කියවන්න. ඔබගේ දෙමාපියන් කෙරෙහි හා දෙමාපියන් ගේ දෙමාපියන් කෙරෙහි ඔබ එකිනෙකා ඉටුකළ යුතු යුතුකම් සාකච්ඡා කරන්න.

## විසිපස්වැනි පාඩම

# වීර මරණයට පත් ළමයා.

සිය පියාගේ වීර මරණයෙන් පසුව ඉමාම් අල් හසන් ගේ පුතණුවන් අබ්දුල්ලාහ් හැදී වැඩුණේ සිය ශුද්ධවූ සුළු පියා වන ඉමාම් අල් හුසෙයින් සමඟය. ඔහු එතුමන්ට බොහෝ ආදරය කළේය. ඉමාම් හුසෙයින් තුළද සිය ඥාති පුත්‍රයා කෙරෙහි විශාල දයාවක් වූණි.

අබ්දුල්ලාහ් සිය සුළු පියා සමඟ කර්බලාවට ගියේය. එහි සිදුවූ සියල්ලක්ම ඔහු දෑසින් දැක ගත්තේය. තමන්ගේ තරුණ සහෝදරයන් සහ ඥාති සොහොයුරන් සිය යුද ඇඳුම් ඇඳගෙන ''අල්ලාහු අක්බර්'' යන හඬින් කඩු අමෝරාගෙන යුද පිටියට ගමන් කරනු ඔහු දුටුවේය. ආගමෙත් කුර්ආනයේත් සතුරන්, අවිශ්වාසවන්තයින් සහ ප්‍රෝඩාකාරයින් සමඟ ඔවුන් සටන් කරනුද, මේ සටනේදී සතුරන් මරා දැමෙනුද, ඔවුන් මරණයට පත්වෙනුද ඔහු සියැසින් දැක ගත්තේය. මේ අය ඔවුන්ගේ ශුද්ධවූ රුධිරයෙහි ගිලෙමින් ඉස්ලාමයට සිය වීර මරණයෙන් ජීවය හා ශක්තිය ලබාදෙනුද ඔහුට දකින්නට ලැබුණි.

ඔවුන්ගේ සිරුරු වීර මරණයට පත්වූවන්ගේ සිරුරු තැන්පත් කෙරෙන විශේෂ කුඩාරමට ගෙන එන ලද විට අබ්දුල්ලාහ් එහි ගොස් හඬා වැළපෙන්නේය. ඉස්ලාමයත් එහි ශුද්ධවූ නායකයා අල් ඉමාම් අල් හුසෙයිනුත් රැකගන්නට සටන් බිමට ගොස් කෲර සතුරන් සමඟ සටන් වදින්නට ඔහුට ඕනෑවුණ නමුත් ඔහු ඉතා ලාබාල වූ නිසා අන් අයගෙන් ඔහුට අවසර ලැබුණේ නැත.

ඒ ආෂූරා දිනයයි. ඔහුගේ යහළුවන් සහ සහෝදරයන් සියල්ලමත් අල් ඉමාම් අල් හුසෙයින්ගේ නිර්භීත සේනාවේ සියල්ලමත් වීර මරණයට පත්ව සිටියහ. අබ්දුල්ලාහ් ඔවුන්ගේ වීර මරණය දෑසින් දැක තිබුණි. සටන් බිම කරා නික්මෙන්නට පෙර සියළු දෙනාම අවසන් සුභ

පැතීම දෙන සැටින්, තම නායකයා කිසි විටෙක තනි නොකරන බවට පොරොන්දු වෙන සැටින් ඔහුට ඇසුණි.

අල් ඉමාම් අල්.හුසෙයින් ගේ අවසාන සගයාත් නිර්භීත ලෙස වීර මරණයට පත්ව සිටියේය. දැන් අල් ඉමාම් අල් හුසෙයින් තනිවම යුද පිටියට වැදුණි. අබ්දුල්ලාහ් වීර මරණයට පත්වූවන්ගේ කූඩාරම අසළ රැඳී බලා සිටියේය. පැයකුත් ඉකුත්ව ගිය තැන අබ්දුල්ලාහ්ට සිය සුළු පියා දැක ගැනීම අසීරු විය. නිමේෂයකින් අබ්දුල්ලාහ් යුද පිටිය දෙසට දුවන්නට පටන් ගත්තේය. ඔහුගේ නැන්දණිය වූ සෙයිනබ්ට ඔහු වළකාලන්නට උවමනා විය. නමුත් ඇයට එසේ කළ නොහැකි විය. තම සුළු පියා සොයාගෙන ඔහු රැකගන්නට අබ්දුල්ලාහ්ට ඕනෑවුණි. අවසානයේදී තමන්ගේ ලේ වලින් තෙත්වූ ඉමාම්වරයාගේ සිරුර අබ්දුල්ලාහ්ට දැක ගත හැකි විය. තුෂ්නිම්භූත වූ දරුවා තම ආදරණීය සුළු පියාගේ ලේ ගලන මුහුණ දෙස බලා සිටියේය. අල් ඉමාම් අල් හුසෙයින් දෑස හැර බැලූ විට ඔවුනොවුන්ගේ දෑස් එකිනෙකා හමුවිය.

හදිසියේම කඩුපතක් එසවුණි. ඒ ඉමාම් අල් හුසෙයින්ට අවසන පහර දෙන්නටය. කඩුවේ දිළිසුම අබ්දුල්ලාහ්ට පෙණුනි. ඔහු හිස ඔසවා බැලුවේය.

''ජඩයා, නුඹට මගේ බාප්පා මරා දමන්නට අවශ්‍යද?'' යයි කෑ ගසමින් ඔහු වහා සිය සුළු පියාගේ ලේ ගලන සිරුර අතින් මුවා කළේය. කඩුව බිමට ඇදුණි. එයින් අබ්දුල්ලාහ්ගේ සුරත දෙකඩ විය. නිර්භීත දරුවාගේ සිරුර ඉමාම් අල් හුසෙයින්ගේ පපුව මත වැටුණි. සැම කාලයන්හිම තරුණයින්ට ජිහාදය හා නිදහස පිළිබඳ පණිවුඩය ලබාදෙමින් ඔහු වීර මරණයට පත්විය.

අල් ඉමාම් අල් හුසෙයින්ද අවසන් හුස්ම හෙළමින් මෙසේ කීවේය.

''මාගේ ආදරණීය දරුවා, වීර මරණය අපට ගෞරවයකි. ඔබගේ පියාවන අල් ඉමාම් අල් හසන් ද, ඔබගේ මුත්තණුවන් වන ශුද්ධවූ නබිතුමාද ඔබ එනතුරු ස්වර්ගයෙහි බලාසිටිති. අප එක්ව එහි යමු.''

## ප්‍රශ්න

1. අබ්දුල්ලාහ් යනු කවරෙක්ද? ඔහුගේ පියා කවරෙක් විද?
2. ආෂූරා දිනයේ දී ඔහු දුටුවේ කුමක්ද?
3. ඔවුහු ඔහුට යුද බිමට යන්නට අවසර නුදුන්නේ මන්ද?
4. වීර මරණයට පත්වූවන් අවසන් සමුගැනීමේදී දුන් පණිවුඩය කුමක්ද?
5. අබ්දුල්ලාහ් වීර මරණයට පත්වූයේ කෙසේද? තමන් වීර මරණයට පත්වන්නට පෙර ඔහු සතුරු සෙබලාට කුමක් කීවේද?
6. අල් ඉමාම් අල් හුසෙයින් අවසන් හුස්ම හෙළද්දී දරුවාට කුමක් කීවේද?

## අභ්‍යාස

අ. ඔබට මේ කතාව වීර මරණයට පත් දරුවාගේ අදහස් වලට අනුව ලිවිය හැක්කේ කෙසේද?

මෙලෙසින් පටන් ගන්න. මගේ නම අබ්දුල්ලාහ්. මම අල් ඉමාම් හසන් (අලෛහි ස්සලාම්) ගේ පුතා වෙමි.

ආ. වීර මරණයට පත් තවත් ප්‍රකට අයෙකුගේ කතාව ඔබට ලිවිය හැකිද? එය ඔබේ පංතියේ සගයින්ට ඇසෙන්නට කියවන්න.